# අ.පො.ස.(උ.පෙළ) විභාගය - 2015

## ඇගයීම් වාර්තාව

# 33 - ගිණුම්කරණය




පර්යේෂණ හා සංවර්ධන ශාඛාව
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව.

# හැඳින්වීම

අධ්‍යයන පොදු සහතික පත්‍ර උසස් පෙළ විභාගය, ශ්‍රී ලංකාවේ ජ්‍යෙෂ්ඨ ද්විතීයික අධ්‍යාපනයේ අවසාන සහතිකකරණ විභාගයයි. ජ්‍යෙෂ්ඨ ද්විතීයික අධ්‍යාපනය අවසානයේ සිසුන්ගේ සාධන මට්ටම සහතික කිරීම මෙම විභාගයේ ප්‍රධාන අරමුණ වුව ද ජාතික විශ්වවිද්‍යාලවලට, වෙනත් උසස් අධ්‍යාපන හා වෘත්තීය පුහුණු ආයතනවලට මෙන් ම ජාතික අධ්‍යාපන විද්‍යාපීඨවලට සුදුස්සන් තෝරා ගැනීම ද මෙම විභාගයේ ප්‍රතිඵල මත සිදු කෙරෙන බැවින් සාධන පරීක්ෂණයක් වශයෙන් මෙන්ම තේරීමේ පරීක්ෂණයක් වශයෙන් ද අ.පො.ස.(උ.පෙළ) විභාගය, ඉතා වැදගත් තත්ත්වයක් උසුලයි. එමෙන්ම තෘතීයික මට්ටමේ රැකියා සඳහා ද ප්‍රවේශ සුදුසුකම් සහතික කෙරෙන විභාගයක් වශයෙන් මෙය පිළිගැනේ. 2015 වර්ෂයේ දී මෙම විභාගය සඳහා 210340ක් පාසල් අයදුම්කරුවෝ ද 44851ක් පෞද්ගලික අයදුම්කරුවෝ ද පෙනී සිටියහ.

මෙම විභාගයෙන් උසස් සාධන මට්ටමක් ලබා ගැනීම සඳහා සිසුහු ද ඔවුන්ගේ එම අපේක්ෂා සපුරාලීම සඳහා ගුරුවරු හා දෙමව්පියෝ ද දැඩි වෙහෙසක් දරති. මෙම ඇගයීම් වාර්තාව සකස්කර ඇත්තේ ඔවුන්ගේ එම අපේක්ෂා ඉටුකරගැනීම පිණිස ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ සහාය දීමක් වශයෙනි. මෙම ඇගයීම් වාර්තාවේ ඇතුළත් තොරතුරු විභාග අපේක්ෂකයින්ට, ගුරු භවතුන්ට, විදුහල්පතිවරුන්ට, ගුරු උපදේශක මහත්ම මහත්මීන්ට, විෂයභාර අධ්‍යක්ෂවරුන්ට, දෙගුරුන්ට හා අධ්‍යාපන පර්යේෂකයින්ට එක සේ ප්‍රයෝජනවත් වනු නොඅනුමාන ය. එබැවින් මෙම වාර්තාව වැඩි පිරිසකගේ පරිශීලනය සඳහා යොමු කිරීම වඩාත් සුදුසු වේ.

මෙම ඇගයීම් වාර්තාව, I, II හා III යනුවෙන් කොටස් තුනකින් සමන්විත වේ.

අ.පො.ස.(උ.පෙළ) ගිණුම්කරණය විෂයයෙහි විෂය අභිමතාර්ථ හා විෂය සාධනය පිළිබඳ තොරතුරු මෙම වාර්තාවේ I කොටසෙහි අඩංගු වේ. ඒ යටතේ විෂයය සඳහා පෙනී සිටි අයදුම්කරුවන් සංඛ්‍යාව, ඔවුන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය, දිස්ත්‍රික් මට්ටමින් පාසල් අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය, පන්ති ප්‍රාන්තර අනුව ලකුණු ව්‍යාප්තිය යන විෂය සාධනය පිළිබඳ සංඛ්‍යානමය තොරතුරු ද ගිණුම්කරණය විෂයයේ I හා II පත්‍රවල ප්‍රශ්න තෝරාගෙන ඇති ආකාරය, එම ප්‍රශ්නවලට හා එම එක් එක් ප්‍රශ්නයෙහි කොටස්වලට ලකුණු ලබාගෙන ඇති ආකාරය සවිස්තරාත්මකව දැක්වෙන විෂය සාධනය පිළිබඳ විශ්ලේෂණයක් ද අන්තර්ගත වේ. අ.පො.ස.(උ.පෙළ) 2015 විභාගයේ ගිණුම්කරණය විෂයයෙහි I හා II ප්‍රශ්න පත්‍රවල ප්‍රශ්න හා එම ප්‍රශ්නවලට අයදුම්කරුවන් පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු මෙම වාර්තාවේ II කොටසෙහි අඩංගු වෙයි. ඒ යටතේ I හා II ප්‍රශ්න පත්‍රවල ප්‍රශ්න සඳහා අපේක්ෂිත පිළිතුරු, ලකුණු දීමේ පටිපාටිය, පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ, නිගමන හා සංවර්ධනාත්මක යෝජනා අන්තර්ගත වේ.

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ පර්යේෂණ හා සංවර්ධන ශාඛාව මගින් උත්තර පත්‍ර ඇගයීමේ නිරත වූ ප්‍රධාන, අතිරේක ප්‍රධාන හා සහකාර පරීක්ෂකවරුන් විසින් ඉදිරිපත් කරනු ලබන තොරතුරු, නිරීක්ෂණ, අදහස් හා යෝජනා ද සම්භාව්‍ය පරීක්ෂණ න්‍යාය (Classical Test Theory) හා අයිතම ප්‍රතිචාර න්‍යාය (Item Response Theory) යොදාගනිමින් අයදුම්කරුවන්ගේ ප්‍රතිචාර විශ්ලේෂණය මගින් ලබාගත් තොරතුරු ද මෙම ඇගයීම් වාර්තාව සකස් කිරීම සඳහා පදනම් කරගෙන ඇත.

ප්‍රශ්න පත්‍රවල එක් එක් ප්‍රශ්නයට පිළිතුරු සැපයීමේ දී අපේක්ෂකයන් සැලකිලිමත් විය යුතු කරුණු ද ඉගෙනුම් ඉගැන්වීම් කාර්යය පිළිබඳ අදහස් හා යෝජනා ද මෙම වාර්තාවෙහි III කොටසෙහි ඇතුළත් කර ඇත. විවිධ නිපුණතා හා එම නිපුණතා මට්ටම්වලට ළඟාවීම සඳහා ඉගෙනුම් හා ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කරගත යුතු ආකාරය පිළිබඳ ව මෙයින් මහත් පිටිවහලක් ලැබෙනු ඇතැයි සිතමි.

ඉදිරියේ දී සම්පාදනය කරනු ලබන ඇගයීම් වාර්තාවල ගුණාත්මක වර්ධනයක් ඇති කිරීම සඳහා ඵලදායී අදහස් හා යෝජනා අප වෙත යොමුකරන ලෙස කාරුණික ව ඉල්ලමි.

මෙම වාර්තාව සැකසීම සඳහා අවශ්‍ය තොරතුරු සැපයූ ප්‍රධාන, අතිරේක ප්‍රධාන පරීක්ෂකවරුන්ට හා සහකාර පරීක්ෂකවරුන්ටත්, උනන්දුවෙන් හා සක්‍රීයව දායක වූ සැකසුම් කමිටු සාමාජිකයින්ටත්, වගකීමෙන් කටයුතු කළ ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ නිලධාරීන්ට හා කාර්ය මණ්ඩලයටත් ඒ සඳහා මූල්‍ය අනුග්‍රහය දැක්වූ අනාගත දැනුම් කේන්ද්‍රීය පදනම ලෙස පාසල් පද්ධතිය ප්‍රතිනිර්මාණය කිරීමේ ව්‍යාපෘතිය (TSEP-WB)ටත් මාගේ හෘදයාංගම ස්තූතිය පළ කරමි.

ඩබ්ලිව්.එම්.එන්.ජේ. පුෂ්පකුමාර
විභාග කොමසාරිස් ජනරාල්

2016 ජුනි 29
පර්යේෂණ හා සංවර්ධන ශාඛාව
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව,
පැලවත්ත,
බත්තරමුල්ල.

| | | |
|---|---|---|
| **උපදේශකත්වය** | : | ඩබ්ලිව්.එම්.එන්.ජේ. පුෂ්පකුමාර<br>විභාග කොමසාරිස් ජනරාල් |
| **මෙහෙයවීම හා සංවිධානය** | : | ගයාත්‍රි අබේගුණසේකර<br>විභාග කොමසාරිස්<br>(පර්යේෂණ හා සංවර්ධන) |
| **සම්බන්ධීකරණය** | : | බුද්ධිකා පෙරේරා<br>නියෝජ්‍ය විභාග කොමසාරිස් |
| **සංස්කරණය** | : | ගයාත්‍රි අබේගුණසේකර<br>විභාග කොමසාරිස්<br>(පර්යේෂණ හා සංවර්ධන)<br><br>ආචාර්ය ඩබ්.වී.ඒ.ඩී. කරුණාරත්න<br>ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,<br>ගණකාධිකරණ අධ්‍යයන අංශය<br>කැලණිය විශ්ව විද්‍යාලය<br><br>ආචාර්ය හරේන්ද්‍ර කාරියවසම්<br>ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,<br>ගණකාධිකරණ අධ්‍යයන අංශය<br>ශ්‍රී ජයවර්ධනපුර විශ්ව විද්‍යාලය<br><br>රංගජීව හේරත්<br>ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,<br>ගණකාධිකරණ අධ්‍යයන අංශය<br>ශ්‍රී ජයවර්ධනපුර විශ්ව විද්‍යාලය |
| **සැකසුම් කමිටුව** | : | චන්ද්‍රානි රූපසිංහ<br>රාජසිංහ මධ්‍ය විද්‍යාලය, හංවැල්ල.<br><br>නලීන් රුවන් කුමාර<br>අනුරාධපුර මධ්‍ය මහා විද්‍යාලය, අනුරාධපුර<br><br>බී.එම්. හතරසිංහ<br>විශාඛා උසස් බාලිකා විද්‍යාලය, බදුල්ල.<br><br>ජී.පී. වසන්ත විජේතිලක<br>ශාන්ත මේරි විද්‍යාලය, කෑගල්ල.<br><br>ඊ.එම්. නවරත්න<br>කුලි/කුලියාපිටිය මධ්‍ය විද්‍යාලය, කුලියාපිටිය. |
| **පරිගණක පිටපත සැකසුම** | : | කේ.ඒ. ඉරෝෂා බණ්ඩාර<br>පරිගණක දත්ත සටහන් ක්‍රියාකරු |
| **පිටකවරය සැකසුම** | : | වයි.එස්. අනුරාධි<br>සංවර්ධන නිලධාරි |

# ඇතුළත පිටු

පිටු අංකය

# I කොටස

## 1. විෂය අභිමතාර්ථ හා විෂය සාධනය පිළිබඳ තොරතුරු

### 1.1 ගිණුම්කරණය විෂයයෙහි අභිමතාර්ථ

මෙම විෂය හැදෑරීමෙන් ශිෂ්‍යයා,

* ගිණුම්කරණ සංකල්පීය රාමුව පිළිබඳ මූලික අවබෝධයක් ලබා ගනියි.
* ගිණුම්කරණ ශිල්පීය ක්‍රම පිළිබඳ ලබාගත් මූලික දැනුම භාවිතයට ගනියි.
* ගිණුම්කරණ විෂය ක්ෂේත්‍රය තුළින් විවෘතව ඇති නව්‍යතා අවබෝධ කර ගනියි.
* ගිණුම්කරණ විෂය ක්ෂේත්‍රය තුළින් ලබාගන්නා වූ දැනුම විවිධ වෘත්තීය අවශ්‍යතා සඳහා භාවිතයට ගනියි.
* සමාජ ආර්ථික පරිසරයකට ඵලදායි ලෙස කටයුතු කළ හැකි කළමනාකරණ කුසලතා ලබා ගනියි.
* විවිධ ව්‍යාපාර සංවිධානවල ගිණුම් තැබීම පිළිබඳ කුසලතා ලබා ගනියි.
* විෂය ක්ෂේත්‍රය තුළ ගවේෂණය තුළින් ලැබෙන හුරුව අනාගත පර්යේෂණ හා සංවර්ධන කටයුතුවලට දායක කර ගනියි.
* සම්පත් කාර්යක්ෂමව හා අරපිරිමැස්මෙන් ප්‍රයෝජනයට ගැනීමේ නිපුණතා වර්ධනය කර ගනියි.

## 1.2 විෂය සාධනය පිළිබඳ සංඛ්‍යානමය තොරතුරු

### 1.2.1. විෂය සඳහා පෙනී සිටි අයදුම්කරුවන් සංඛ්‍යාව

| මාධ්‍යය | පාසල් | පෞද්ගලික | එකතුව |
|---|---|---|---|
| සිංහල | 43826 | 5043 | 48869 |
| දෙමළ | 7881 | 1000 | 8881 |
| ඉංග්‍රීසි | 1774 | 750 | 2524 |
| **එකතුව** | **53481** | **6793** | **60274** |

වගුව 1

### 1.2.2. අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය

| ශ්‍රේණිය | පාසල් අයදුම්කරුවන් | | පෞද්ගලික අයදුම්කරුවන් | | එකතුව | ප්‍රතිශතය |
|---|---|---|---|---|---|---|
| | සංඛ්‍යාව | ප්‍රතිශතය | සංඛ්‍යාව | ප්‍රතිශතය | | |
| A | 8167 | 15.27 | 566 | 8.33 | 8733 | 14.49 |
| B | 6479 | 12.11 | 482 | 7.10 | 6961 | 11.55 |
| C | 11472 | 21.45 | 933 | 13.73 | 12405 | 20.58 |
| S | 13707 | 25.63 | 1688 | 24.85 | 15395 | 25.54 |
| F | 13656 | 25.53 | 3124 | 45.99 | 16780 | 27.84 |
| **එකතුව** | **53481** | **100.00** | **6793** | **100.00** | **60274** | **100.00** |

වගුව 2

විභාගයට පෙනී සිටි පාසල් අයදුම්කරුවන්ගෙන් 75%ක් පමණ ගිණුම්කරණය විෂය සමත් වුවද පෞද්ගලික අයදුම්කරුවන්ගෙන් මෙම විෂය සමත්ව ඇත්තේ 54%ක් පමණක් බව ඉහත සංඛ්‍යාලේඛන අනුව පැහැදිලි වේ. සමස්ථයක් ලෙස අයදුම්කරුවන්ගෙන් 73%ක් පමණ ගිණුම්කරණ විෂය සමත් වී ඇත.

1.2.3 ප්‍රථම වරට පෙනීසිටි පාසල් අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය - දිස්ත්‍රික්ක අනුව

| දිස්ත්‍රික්කය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | අසමත් (F) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 1. කොළඹ | 8370 | 1505 | 17.98 | 1064 | 12.71 | 1803 | 21.54 | 2103 | 25.13 | 6475 | 77.36 | 1895 | 22.64 |
| 2. ගම්පහ | 4898 | 682 | 13.92 | 527 | 10.76 | 958 | 19.56 | 1303 | 26.60 | 3470 | 70.85 | 1428 | 29.15 |
| 3. කළුතර | 2311 | 428 | 18.52 | 268 | 11.60 | 443 | 19.17 | 552 | 23.89 | 1691 | 73.17 | 620 | 26.83 |
| 4. මහනුවර | 2832 | 309 | 10.91 | 255 | 9.00 | 615 | 21.72 | 771 | 27.22 | 1950 | 68.86 | 882 | 31.14 |
| 5. මාතලේ | 739 | 62 | 8.39 | 61 | 8.25 | 162 | 21.92 | 202 | 27.33 | 487 | 65.9 | 252 | 34.1 |
| 6. නුවරඑළිය | 1068 | 106 | 9.93 | 121 | 11.33 | 248 | 23.22 | 291 | 27.25 | 766 | 71.72 | 302 | 28.28 |
| 7. ගාල්ල | 2336 | 337 | 14.43 | 280 | 11.99 | 441 | 18.88 | 572 | 24.49 | 1630 | 69.78 | 706 | 30.22 |
| 8. මාතර | 1336 | 211 | 15.79 | 177 | 13.25 | 321 | 24.03 | 306 | 22.90 | 1015 | 75.97 | 321 | 24.03 |
| 9. හම්බන්තොට | 748 | 93 | 12.43 | 104 | 13.90 | 170 | 22.73 | 179 | 23.93 | 546 | 72.99 | 202 | 27.01 |
| 10. යාපනය | 1037 | 174 | 16.78 | 146 | 14.08 | 224 | 21.60 | 235 | 22.66 | 779 | 75.12 | 258 | 24.88 |
| 11. කිලිනොච්චි | 171 | 17 | 9.94 | 17 | 9.94 | 36 | 21.05 | 43 | 25.15 | 113 | 66.08 | 58 | 33.92 |
| 12. මන්නාරම | 202 | 27 | 13.37 | 26 | 12.87 | 38 | 18.81 | 50 | 24.75 | 141 | 69.8 | 61 | 30.2 |
| 13. වව්නියාව | 276 | 40 | 14.49 | 33 | 11.96 | 61 | 22.10 | 75 | 27.17 | 209 | 75.72 | 67 | 24.28 |
| 14. මුලතිව් | 126 | 9 | 7.14 | 16 | 12.70 | 20 | 15.87 | 37 | 29.37 | 82 | 65.08 | 44 | 34.92 |
| 15. මඩකලපුව | 716 | 119 | 16.62 | 94 | 13.13 | 162 | 22.63 | 170 | 23.74 | 545 | 76.12 | 171 | 23.88 |
| 16. අම්පාර | 880 | 106 | 12.05 | 75 | 8.52 | 172 | 19.55 | 261 | 29.66 | 614 | 69.77 | 266 | 30.23 |
| 17. ත්‍රිකුණාමලය | 569 | 64 | 11.25 | 41 | 7.21 | 128 | 22.50 | 152 | 26.71 | 385 | 67.66 | 184 | 32.34 |
| 18. කුරුණෑගල | 2340 | 261 | 11.15 | 255 | 10.90 | 437 | 18.68 | 606 | 25.90 | 1559 | 66.62 | 781 | 33.38 |
| 19. පුත්තලම | 1210 | 179 | 14.79 | 139 | 11.49 | 255 | 21.07 | 314 | 25.95 | 887 | 73.31 | 323 | 26.69 |
| 20. අනුරාධපුරය | 1092 | 131 | 12.00 | 131 | 12.00 | 194 | 17.77 | 275 | 25.18 | 731 | 66.94 | 361 | 33.06 |
| 21. පොළොන්නරුව | 533 | 48 | 9.01 | 38 | 7.13 | 104 | 19.51 | 155 | 29.08 | 345 | 64.73 | 188 | 35.27 |
| 22. බදුල්ල | 1336 | 119 | 8.91 | 110 | 8.23 | 243 | 18.19 | 373 | 27.92 | 845 | 63.25 | 491 | 36.75 |
| 23. මොනරාගල | 556 | 68 | 12.23 | 55 | 9.89 | 119 | 21.40 | 132 | 23.74 | 374 | 67.27 | 182 | 32.73 |
| 24. රත්නපුරය | 1811 | 306 | 16.90 | 241 | 13.31 | 379 | 20.93 | 442 | 24.41 | 1368 | 75.54 | 443 | 24.46 |
| 25. කෑගල්ල | 1292 | 187 | 14.47 | 161 | 12.46 | 263 | 20.36 | 328 | 25.39 | 939 | 72.68 | 353 | 27.32 |
| **සමස්ත දිවයින** | **38785** | **5588** | **14.41** | **4435** | **11.43** | **7996** | **20.62** | **9927** | **25.59** | **27946** | **72.05** | **10839** | **27.95** |

වගුව 3

### 1.2.4 ලකුණු ලබාගෙන ඇති ආකාරය - පන්ති ප්‍රාන්තර අනුව

| පන්ති ප්‍රාන්තරය | සංඛ්‍යාතය | සංඛ්‍යාත ප්‍රතිශතය | සමුච්චිත සංඛ්‍යාතය | සමුච්චිත සංඛ්‍යාත ප්‍රතිශතය |
|---|---|---|---|---|
| 91 - 100 | 565 | 0.94 | 60274 | 100.00 |
| 81 - 90 | 3843 | 6.38 | 59709 | 99.06 |
| 71 - 80 | 6199 | 10.28 | 55866 | 92.69 |
| 61 - 70 | 7519 | 12.47 | 49667 | 82.40 |
| 51 - 60 | 8777 | 14.56 | 42148 | 69.93 |
| 41 - 50 | 10059 | 16.69 | 33371 | 55.37 |
| 31 - 40 | 9761 | 16.19 | 23312 | 38.68 |
| 21 - 30 | 7919 | 13.14 | 13551 | 22.48 |
| 11 - 20 | 4897 | 8.12 | 5632 | 9.34 |
| 01 - 10 | 719 | 1.19 | 735 | 1.22 |
| 00 - 00 | 16 | 0.03 | 16 | 0.03 |

වගුව 4

මෙම විෂය සඳහා අපේක්ෂකයින් ලකුණු ලබාගත් ආකාරය පන්ති ප්‍රාන්තර අනුව ඉහත වගුවේ දැක්වේ. උදාහරණ වශයෙන් ගතහොත් ඉහත වගුව අනුව මෙම විෂයය සඳහා පෙනී සිටි 60274 දෙනා අතුරෙන්, 31-40 ප්‍රාන්තරය තුළ ලකුණු ලබා ඇති සංඛ්‍යාව 9761 කි. එය ප්‍රතිශතයක් වශයෙන් 16.19%කි. ලකුණු 40 හෝ ඊට අඩුවෙන් ලබා ඇති සංඛ්‍යාව 23312ක් වන අතර එය ප්‍රතිශතයක් වශයෙන් 38.67%කි.

## 1.3 විෂය සාධනය පිළිබඳ විශ්ලේෂණය

### 1.3.1. I ප්‍රශ්න පත්‍රය සඳහා සාධනය




ප්‍රස්තාර1 (RD/16/05/AL) පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

අයදුම්කරුවන් විසින් පළමු ප්‍රශ්න පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා නිවැරදි ව පිළිතුරු සැපයූ ප්‍රතිශතය ඉහත ප්‍රස්තාරය මගින් පෙන්නුම් කෙරේ.

නිදසුනක් ලෙස : ඉහත ප්‍රස්තාරය අනුව අයදුම්කරුවන් වැඩිම සංඛ්‍යාවක් නිවැරදිව පිළිතුරු සපයා ඇත්තේ 02 වන ප්‍රශ්නයට වන අතර, එහි ප්‍රතිශතය 91%කි. අඩුම සංඛ්‍යාවක් නිවැරදි ව පිළිතුරු සපයා ඇත්තේ 12 වන ප්‍රශ්නයටය. එහි ප්‍රතිශතය 15%කි.

### 1.3.2. II ප්‍රශ්න පත්‍රයෙහි ප්‍රශ්න තෝරාගෙන ඇති ආකාරය




ප්‍රස්තාරය 2 (RD/16/02/AL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

මෙම ප්‍රස්තාරය මගින් II පත්‍රයේ එක් එක් ප්‍රශ්න තෝරා ගෙන ඇති ආකාරය පැහැදිලි කෙරේ. ඒ අනුව පෙනී යන්නේ අනිවාර්ය ප්‍රශ්න වන 1 සහ 2 ප්‍රශ්න සඳහා ඉතා සුළු පිරිසක් හැර අනෙකුත් සියලුම අයදුම්කරුවන් පිළිතුරු සපයා ඇති බවයි. සෙසු ප්‍රශ්නවලින් අයදුම්කරුවන් වැඩිම පිරිසක් පිළිතුරු සපයා ඇත්තේ II පත්‍රයේ 3 වන ප්‍රශ්නයට වන අතර එම ප්‍රමාණය 95%ක් පමණ වේ. සෙසු ප්‍රශ්න අතුරින් අයදුම්කරුවන් විසින් අඩුවෙන්ම තෝරා ගනු ලැබ ඇත්තේ 07 වන ප්‍රශ්නය වන අතර එය 45%කි.

### 1.3.3. II ප්‍රශ්න පත්‍රයෙහි ප්‍රශ්න සඳහා ලකුණු ලබාගෙන ඇති ආකාරය




ප්‍රස්තාරය 3 (RD/16/02/AL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

මෙම ප්‍රස්තාරය මගින් II වන ප්‍රශ්න පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා ලකුණු ලබා ගෙන ඇති ආකාරය පැහැදිලි කෙරේ. නිදසුනක් ලෙස මෙහි 1 ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය ලකුණු 20කි. එම ලකුණුවලින් 76%-100% (ලකුණු 16-20) ප්‍රාන්තරයේ ලකුණු ලබාගත් ප්‍රතිශතය 18%ක් පමණි. නමුත් අයදුම්කරුවන්ගෙන් වැඩිම පිරිස එනම් 31%ක්ම මෙම ප්‍රශ්නය සඳහා ලබාගෙන ඇත්තේ 0%-25% (ලකුණු 0-5) ප්‍රාන්තරයට අයත් ලකුණු ප්‍රමාණයයි.

1.3.4. II ප්‍රශ්න පත්‍රය සඳහා සාධනය




**ප්‍රස්තාර 4** (RD/16/04/AL) පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

# II කොටස

## 2 ප්‍රශ්න හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

### 2.1 I ප්‍රශ්න පත්‍රය හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

#### 2.1.1 I ප්‍රශ්න පත්‍රයේ ව්‍යූහය

* කාලය පැය 02 යි.
* බහුවරණ ප්‍රශ්න 30ක් හා කෙටි පිළිතුරු සැපයීමේ ප්‍රශ්න 20 කි.
* ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු සැපයිය යුතුයි.
* එක් ප්‍රශ්නයකට ලකුණු 02 බැගින් මුළු ලකුණු 100 කි.
* පිළිතුරු පත් ඇගයීමේදී සෑම ප්‍රශ්නයකට ම ලකුණු 4 බැගින් ලබා දෙනු ඇත. ඒ අනුව මුළු ලකුණු 200 කි.
* අවසාන ලකුණු ගණනය කරන ආකාරය පිළිබඳව 25 පිටුවේ ඇතුළත් වේ.

### 2.1.2 I ප්‍රශ්න පත්‍රයේ අංක 1 සිට 30 තෙක් ප්‍රශ්න

**1.** පහත දැක්වෙන කුමන ප්‍රකාශය ආයතනයක මූල්‍ය ගිණුම්කරණයේ මූලික කාර්යභාරය සම්බන්ධයෙන් **නිවැරදි** වේ ද?
(1) එය ආයතනයක ගනුදෙනු, මූල්‍ය පදනම මත ගිණුම් පොත්වල වාර්තා කරයි.
(2) එය ආයතනයක කළමනාකරුවන්ගේ භාවිතය සඳහා විශේෂිත පරමාර්ථ මූල්‍ය වාර්තා පිළියෙල කරයි.
(3) එය ආයතනයක් පිළිබඳ ව ඇල්මක් දක්වන පාර්ශ්වයන්ගේ භාවිතය සඳහා පොදු පරමාර්ථ මූල්‍ය වාර්තා පිළියෙල කරයි.
(4) එය ආයතනයක අයිතිකරුවන්ට තීරණ ගැනීම සඳහා අතීත සහ අනාගත තොරතුරු සපයයි.
(5) එය ආයතනයක වාර්ෂික විගණනයට අවශ්‍ය මූල්‍ය තොරතුරු සපයයි. (......)

**2.** පහත කාර්යයන් ගිණුම්කරණ ක්‍රියාවලිය තුළ සිදුවන **නිවැරදි** අනුපිළිවෙළ කුමක් ද?
A - ගනුදෙනු සිදු වීම
B - ජර්නල් සටහන් ලෙජරයට පිටපත් කිරීම
C - ගනුදෙනු මූලික පොත්වල සටහන් කිරීම
D - ශේෂ පිරික්සුම පිළියෙල කිරීම
E - ලෙජර ගිණුම් තුලනය කිරීම
(1) A, B, C, E, D (2) A, C, B, E, D (3) C, A, B, E, D (4) C, B, A D, E (5) C, B, A, E, D (......)

**3.** එක් එක් කාලච්ඡේදයේ ක්ෂය ආදායම් ප්‍රකාශනයේ හඳුනාගනු ලබන්නේ කුමන ගිණුම්කරණ සංකල්පයට අනුකූලව ද?
(1) උපචිත (2) අඛණ්ඩ පැවැත්ම (3) ගැළපුම් (4) උපලබ්ධි (5) ආරක්ෂණ (......)

**4.** භාණ්ඩ ගනුදෙනුකරුවන්ට බෙදාහරින අවස්ථාවේ දී විකුණුම් අයභාරය ආදායම් ප්‍රකාශනයෙහි හඳුනාගැනීම සඳහා පහත කුමන ගිණුම්කරණ සංකල්පය පදනම් වන්නේ ද?
(1) උපචිත (2) ගැළපුම් (3) කාලච්ඡේද (4) ආරක්ෂණ (5) උපලබ්ධි (......)

**5.** ශ්‍රී ලංකාව තුළ අනුගමනය කරන 'මූල්‍ය වාර්තාකරණයේ සංකල්පනාත්මක රාමුවට' අනුව පහත කුමන ඒවා මූල්‍ය තොරතුරුවල **මූලික** ගුණාත්මක ගතිලක්ෂණ ලෙස සලකනු ලබයි ද?
(1) අදාළ බව සහ සත්‍යාපනය කළ හැකි බව
(2) විශ්වසනීය බව සහ කාලීන බව
(3) අවබෝධ කරගත හැකි බව සහ සංසන්දනාත්මක බව
(4) සංසන්දනාත්මක බව සහ විශ්වසනීය නියෝජනය
(5) අදාළ බව සහ විශ්වසනීය නියෝජනය (......)

**6.** ආයතනයක් විසින් ලකුණු කළ මිල රු. 600 000 ක් වූ භාණ්ඩ 5% ක වෙළෙඳ වට්ටමකට යටත් ව ණයට මිලදී ගෙන පසුව රු. 650 000 ක අත්පිට මුදලට විකුණන ලදී. ණයහිමියන්ට ගෙවිය යුතු මුදල මේ දක්වා පියවා නොමැත. මෙම ගනුදෙනුවල **ශුද්ධ බලපෑම** ගිණුම්කරණ සමීකරණයේ නිරූපණය කරනුයේ:

| | වත්කම් | වගකීම් | හිමිකම් |
|---|---|---|---|
| (1) | රු. 50 000 කින් වැඩි වේ. | – | රු. 50 000 කින් වැඩි වේ. |
| (2) | රු. 80 000 කින් වැඩි වේ. | – | රු. 80 000 කින් වැඩි වේ. |
| (3) | රු. 80 000 කින් වැඩි වේ. | රු. 570 000 කින් අඩු වේ. | රු. 650 000 කින් වැඩි වේ. |
| (4) | රු. 650 000 කින් වැඩි වේ. | රු. 570 000 කින් වැඩි වේ. | රු. 80 000 කින් වැඩි වේ. |
| (5) | රු. 650000 කින් වැඩි වේ. | රු. 600 000 කින් වැඩි වේ. | රු. 50 000 කින් වැඩි වේ. |

(......)

**7.** සීමිත තනුජා පොදු සමාගමේ 2015.03.31 දිනට ණයහිමි පාලන ගිණුමේ ශේෂය රු. 360 000 ක් විය. එදිනට ණයහිමි ලෙජරයට අනුව ණයහිමි ශේෂයන්ගේ එකතුව රු. 406 000 ක් විය. පසුව කරන ලද විමර්ශනයේ දී පහත දෑ හෙළිදරව් විය:
- සැපයුම්කරුවකු විසින් නියමිත දිනට නොපිය වූ ශේෂයක් මත අයකරන ලද රු. 10 000 ක පොලිය, ණයහිමි ලෙජරයේ පමණක් සටහන් කර තිබුණි.
- ගැනුම් ජර්නලයේ එකතුව වූ රු. 62 000, ණයහිමි පාලන ගිණුමේ රු. 26 000 ක් ලෙස සටහන් කර තිබුණි.
- ණයහිමියකුට ගෙවූ රු. 28 000 ක්, ණයහිමි පාලන ගිණුමෙහි මෙන් ම ණයහිමි ලෙජරයේ ද සටහන් කර නොතිබුණි.

2015.03.31 දිනට ණයහිමි පාලන ගිණුමේ **නිවැරදි** ශේෂය:
(1) රු. 358 000 (2) රු. 368 000 (3) රු. 378 000 (4) රු. 404 000 (5) රු. 406 000 (......)

**8.** සීමිත චතුර පොදු සමාගමේ 2015.03.31 දිනට ශේෂ පිරික්සුම තුලනය නොවී ය. පසුව කරන ලද විමර්ශනයේ දී පහත දෑ හෙළිදරව් විය:
- අත්පිට විකුණුම් රු. 100 000 ක් මුදල් පොතේ පමණක් සටහන් කර තිබුණි.
- ගැනුම් ජර්නලය රු. 60 000 ක් අඩුවෙන් එකතු කර තිබුණි.
- බොල් ණය ආපසු ලැබීම් රු. 30 000 ක් වියදමක් ලෙස වාර්තා කර තිබුණි.
- රු. 10 000 ක පොලී ආදායමක් පොලී ආදායම් ගිණුමේ දෙවරක් බැර කර තිබුණි.

ඉහත වැරදි නිවැරදි කිරීමට පෙර අවිනිශ්චිත ගිණුමේ ශේෂය:
(1) රු. 90000 හර (2) රු. 90000 බැර (3) රු. 130000 බැර
(4) රු. 150000 හර (5) රු. 150000 බැර (......)

**9.** පහත තොරතුරු 2015 මාර්තු මාසය සඳහා සමාගමක තොග අයිතමයකට අදාළ වේ.

| **දිනය** | **විස්තරය** | **ප්‍රමාණය (ඒකක)** | **ඒකක පිරිවැය (රු.)** |
|---|---|---|---|
| 2015.03.01 | ශේෂය | 1 000 | 60 |
| 2015.03.20 | ගැනුම් | 3 000 | 80 |
| 2015.03.31 | විකුණුම් | 2 000 | |

සමාගම තොග නිකුත් කිරීම් මිල කිරීම සඳහා 'පෙර-පිවිසි පෙර-පිට' (FIFO) ක්‍රමය භාවිත කරයි. 2015.03.31 දිනට තොග ඒකකයක ශුද්ධ උපලබ්ධි අගය රු. 70 ක් විය.

LKAS 2 (තොග) ප්‍රමිතයට අනුව, 2015.03.31 දිනට තොගයේ පිරිවැය සහ මූල්‍ය තත්ත්ව ප්‍රකාශනයේ නිරූපණය කළ යුතු එහි ධාරණ වටිනාකම කොපමණ ද?

| | **පිරිවැය (රු.'000)** | **ධාරණ වටිනාකම (රු.'000)** |
|---|---|---|
| (1) | 140 | 140 |
| (2) | 140 | 160 |
| (3) | 150 | 140 |
| (4) | 160 | 140 |
| (5) | 160 | 160 |

(......)

**10.** LKAS 16 (දේපළ, පිරියත සහ උපකරණ) ප්‍රමිතයට අනුව දේපළ, පිරියත සහ උපකරණ නිර්වචනය කිරීමට අදාළ ව පහත කුමන ප්‍රකාශය/ප්‍රකාශ **නිවැරදි** වේ ද?

A - ඒවා ස්පෘශ්‍ය අයිතම වේ.

B - ඒවා භාණ්ඩ නිෂ්පාදනය කිරීමට හෝ සේවා සැපයීමට හෝ පරිපාලන කාර්යයන් සඳහා භාවිත කිරීමට පවත්වා ගැනේ.

C - ඒවා එක් මූල්‍ය වර්ෂයකට වඩා වැඩි කාලයක් භාවිතයට ගැනීමට අපේක්ෂා කෙරේ.

(1) A පමණි. (2) A හා B පමණි. (3) A හා C පමණි.
(4) B හා C පමණි. (5) A, B හා C යන සියල්ල ම. (......)

**11.** එකතු කළ අගය මත බදු (VAT) සඳහා ලියාපදිංචි ව්‍යාපාරයක් 2015.03.31 දින අත්පත් කරගත් යන්ත්‍රයකට පහත තොරතුරු අදාළ වේ.

| | **රු.** |
|---|---|
| VAT ඇතුළු ව ගෙවූ මිල | 777 000 |
| වරායේ සිට ව්‍යාපාර ස්ථානයට ප්‍රවාහනය කිරීමේ පිරිවැය | 40 000 |
| වැඩබිම සකස් කිරීමේ පිරිවැය | 120 000 |
| සවිකිරීමේ පිරිවැය | 80 000 |
| සමාරම්භක උත්සවයේ වියදම් | 30 000 |
| යන්ත්‍රයේ මූලික පරීක්ෂා කිරීමේ පිරිවැය | 10 000 |

අදාළ VAT අනුපාතය 11% කි.

LKAS 16 (දේපළ, පිරියත සහ උපකරණ) ප්‍රමිතයට අනුව ආරම්භක හඳුනාගැනීමේ දී යන්ත්‍රයේ පිරිවැය:

(1) රු. 931 530 (2) රු. 950 000 (3) රු. 971 530 (4) රු. 980 000 (5) රු. 1 027 000 (......)

**12.** 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා නිෂ්පාදන සමාගමක වැටුප් ලේඛනයෙන් පහත තොරතුරු උපුටා ගන්නා ලදී.

| **විස්තරය** | **සේවක වර්ගය:** | |
|---|---|---|
| | **නිෂ්පාදන සේවකයන් (රු.'000)** | **නිෂ්පාදන සුපරීක්ෂකවරුන් (රු.'000)** |
| මූලික වැටුප | 4 000 | 2 000 |
| දිරි දීමනා ගෙවීම් (නිම කරන ලද විශේෂිත ඇණවුමක් සඳහා කැලි පදනම මත) | 1 500 | – |
| අතිකාල දීමනා | – | 800 |
| ප්‍රසාද දීමනා (සමාගමේ ලාභ පදනම් ව) | 200 | 100 |
| **දළ වැටුප** | **5 700** | **2 900** |
| අඩු කිරීම්: EPF දායකය (10%) | 400 | 200 |
| **ශුද්ධ වැටුප** | **5 300** | **2 700** |
| සමාගමේ දායකත්වයන්: | | |
| EPF (15%) | 600 | 300 |
| ETF (3%) | 120 | 60 |

2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා සමාගමේ සෘජු වේතන සහ නිෂ්පාදන පොදු කාර්යය පිරිවැය තුළ අන්තර්ගත වැටුප් අගයන් කොපමණ ද?

| | **සෘජු වේතන (රු.'000)** | **නිෂ්පාදන පොදු කාර්යය පිරිවැයේ අන්තර්ගත වැටුප (රු.'000)** |
|---|---|---|
| (1) | 5 300 | 2 700 |
| (2) | 5 500 | 2 800 |
| (3) | 5 700 | 2 900 |
| (4) | 6 220 | 3 160 |
| (5) | 6 420 | 3 260 |

(......)

**13.** 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ක්‍රීඩා සමාජයක සාමාජික මුදල්වලට අදාළ තොරතුරු පහත දැක්වේ.

2014/2015 වර්ෂය තුළ දී ලද සාමාජික මුදල්වල සංයුතිය:

| **වසර** | **රු.** |
|---|---|
| 2013/2014 | 9 000 |
| 2014/2015 | 50 000 |
| 2015/2016 | 20 000 |
| | **79 000** |

| | **2015.03.31 දිනට (රු.)** | **2014.03.31 දිනට (රු.)** |
|---|---|---|
| ලැබිය යුතු සාමාජික මුදල් | 15 000 | 10 000 |
| කලින් ලද සාමාජික මුදල් | ? | 10 000 |

2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා හඳුනාගත් සාමාජික මුදල් ආදායම කොපමණ ද?

(1) රු. 50 000 (2) රු. 74 000 (3) රු. 79 000 (4) රු. 84 000 (5) රු. 94 000 (……)

- **ප්‍රශ්න අංක 14 සහ 15 ට පිළිතුරු සැපයීමට පහත තොරතුරු භාවිත කරන්න.**

ලාල්, නිල් සහ රාජු ලාභාලාභ සමසමව බෙදා ගන්නා ව්‍යාපාරයක හවුල්කරුවන් වේ. 2014.04.01 දිනට හවුල් ව්‍යාපාරයේ ප්‍රාග්ධන සහ ජංගම ගිණුම්වල ශේෂයන් පහත පරිදි විය.

රු.'000

| **ගිණුම** | **ලාල්** | **නිල්** | **රාජු** |
|---|---|---|---|
| ප්‍රාග්ධන | 3 000 | 2 000 | 1 000 |
| ජංගම | 600 | 400 | 200 |

2015.03.31 දිනෙන් අවසන් වර්ෂය තුළ දී හවුල් ව්‍යාපාරය රු. 2 700 000 ක ලාභයක් ඉපැයී ය. සෑම හවුල්කරුවකු ම රු. 400 000 ක වාර්ෂික වේතනයකට සහ ඔවුන්ගේ ආරම්භක ප්‍රාග්ධන ශේෂයන් මත 10% ක පොලියකට හිමිකම් ලබයි.

ප්‍රවර්තන වර්ෂය තුළ දී හවුල්කරුවන්ගේ ගැනිලි: ලාල් රු. 60 000, නිල් රු. 40 000 සහ රාජු රු. 30 000.

2015.03.31 දින රාජු හවුල් ව්‍යාපාරයෙන් විශ්‍රාම ගන්නා ලදී. මෙදිනට ඔහුගේ කීර්තිනාම කොටස රු. 200 000 ක් ලෙස ඇස්තමේන්තු කරන ලදී. රාජුට ගෙවිය යුතු මුදල ණය ගිණුමකට මාරු කරන ලදී.

**14.** 2015.03.31 දිනට ලාල් සහ නිල්ගේ ජංගම ගිණුම්වල ශේෂයන්:

| | **ලාල් (රු.'000)** | **නිල් (රු.'000)** |
|---|---|---|
| (1) | 1 540 | 1 260 |
| (2) | 1 600 | 1 300 |
| (3) | 2 130 | 1 850 |
| (4) | 2 140 | 1 860 |
| (5) | 2 190 | 1 890 |

(……)

**15.** 2015.03.31 දිනට ලාල්ගේ ප්‍රාග්ධන ගිණුමේ ශේෂය සහ රාජුගේ ණය ගිණුමේ ශේෂය:

| | **ප්‍රාග්ධන ගිණුම - ලාල් (රු.'000)** | **ණය ගිණුම - රාජු (රු.'000)** |
|---|---|---|
| (1) | 2 900 | 1 200 |
| (2) | 2 900 | 2 170 |
| (3) | 2 900 | 2 770 |
| (4) | 3 000 | 1 200 |
| (5) | 3 000 | 2 170 |

(……)

**16.** සීමිත නාලන්ද පොදු සමාගමේ 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා මූල්‍ය ප්‍රකාශන අධ්‍යක්ෂකවරු විසින් 2015.05.15 දින අනුමත කරන ලදී. සමාගමේ වාර්ෂික මහා සභා රැස්වීම 2015.05.30 දින පවත්වන ලදී. 2015.03.31 දිනට පසුව පහත සඳහන් සිද්ධීන් සමාගමේ සිදු විය.

A - 2015.03.31 දිනට රු. 750 000 ක් ගෙවිය යුතු ණයගැතියකු 2015.04.20 දින බුන්වත් බව ප්‍රකාශ කරන ලදී.
B - 2015.03.31 දිනට පිරිවැය රු. 800 000 ක් වූ තොගයක් 2015.04.30 දින රු. 720 000 කට විකුණන ලදී.
C - 2015.03.31 දිනට රු. 500 000 ක වගකීමක් ඇති බව තහවුරු කරමින් 2015.05.25 දින නඩු තීන්දුවක් ලබා දෙන ලදී.
D - 2015.05.15 දින සාමාන්‍ය කොටසකට රු. 3 බැගින් වූ අවසාන ලාභාංශයක් ප්‍රකාශයට පත් කරන ලදී.

LKAS 10 (වාර්තා කරන කාල පරිච්ඡේදයකට පසු සිදුවීම්) ප්‍රමිතයට අනුව 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා සමාගමේ මූල්‍ය ප්‍රකාශනවල ඉහත කුමන සිද්ධීන් ගැළපිය යුතු ද?

(1) A හා B පමණි. (2) C හා D පමණි. (3) A, B හා C පමණි.
(4) B, C හා D පමණි. (5) A, B, C හා D යන සියල්ලම. (……)

**17.** LKAS 37 (ප්‍රතිපාදන, අසම්භාව්‍ය වගකීම් සහ අසම්භාව්‍ය වත්කම්) ප්‍රමිතයට අනුව පහත කුමන අයිතම සමාගමක මූල්‍ය තත්ත්ව ප්‍රකාශනයේ ප්‍රතිපාදන ලෙස හඳුනා ගැනේ ද?

A - අඩමාණ ණය සඳහා වෙන් කිරීම්
B - සේවක වන්දි ඉල්ලීමක් සඳහා වෙන් කිරීම්
C - ක්ෂය සඳහා වෙන් කිරීම්
D - වගකීම් සහතික මත ඉල්ලුම් සඳහා වෙන් කිරීම්

(1) A හා D පමණි. (2) B හා D පමණි. (3) A, B හා C පමණි.
(4) B, C හා D පමණි. (5) A, B, C හා D යන සියල්ලම. (……)

**18.** 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා සමාගමකට අදාළව පහත තොරතුරු දී ඇත.

| විස්තරය | රු.'000 |
|---|---|
| වර්ෂය සඳහා ලාභය | 750 |
| වර්ෂය සඳහා ආදායම් බදු වෙන් කිරීම | 50 |
| කාර්යාල උපකරණයක් විකිණීමෙන් ඇති වූ අලාභය | 20 |
| ගෙවූ ආදායම් බදු | 20 |
| කාර්යාල උපකරණ මත ක්ෂය | 70 |
| තොගයේ වැඩි වීම | 230 |
| වෙළෙඳ ණයහිමියන්ගේ අඩු වීම | 120 |

LKAS 7 (මුදල් ප්‍රවාහ ප්‍රකාශනය) ප්‍රමිතයට අනුව 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා සමාගමේ මෙහෙයුම් කටයුතු තුළින් ජනනය වූ ශුද්ධ මුදල් ප්‍රවාහය කොපමණ ද?

(1) රු. 470 000 (2) රු. 520 000 (3) රු. 540 000 (4) රු. 1 170 000 (5) රු. 1 220 000 (……)

- **2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා සීමිත අමල් පොදු සමාගමට අදාළ පහත තොරතුරු ප්‍රශ්න අංක 19 සහ 20 ට පිළිතුරු සැපයීමට භාවිත කරන්න.**

| විස්තරය | රු.'000 |
|---|---|
| විකුණුම් අයභාරය | 1 000 |
| මෝටර් රථ ප්‍රත්‍යාගණනය මත අතිරික්තය | 200 |
| සැපයුම්කරුවන්ගෙන් ලද වෙළෙඳ වට්ටම් | 100 |
| ගොඩනැගිල්ලක් විකිණීම මත ලාභය | 300 |
| මූල්‍ය වියදම | 500 |

2014.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා මෝටර් රථ ප්‍රත්‍යාගණනය මත රු. 150 000 ක හිඟයක් ඇති වූ අතර සමාගම එය වියදමක් ලෙස හඳුනාගෙන ඇත.

**19.** 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා සමාගමේ හඳුනාගත් මුළු ආදායම සහ වෙනත් විස්තීරණ ආදායම කොපමණ ද?

| | මුළු ආදායම (රු.'000) | වෙනත් විස්තීරණ ආදායම (රු.'000) |
|---|---|---|
| (1) | 1 450 | 50 |
| (2) | 1 500 | 50 |
| (3) | 1 500 | 200 |
| (4) | 1 600 | 50 |
| (5) | 1 600 | 200 |

(……)

**20.** 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා සමාගමේ මුළු විස්තීරණ ආදායම සහ රඳවාගත් ඉපැයුම් කොපමණ ද?

| | මුළු විස්තීරණ ආදායම (රු.'000) | රඳවාගත් ඉපැයුම් (රු.'000) |
|---|---|---|
| (1) | 950 | 950 |
| (2) | 1 000 | 800 |
| (3) | 1 000 | 950 |
| (4) | 1 100 | 900 |
| (5) | 1 100 | 1 050 |

(……)

**21.** පහත තොරතුරු සමාගමක් සතු වූ යන්ත්‍රයක් හා බැඳේ.

| | |
|---|---|
| පිරිවැය (රු.'000) | 6 000 |
| 2014.03.31 දිනට සමුච්චිත ක්ෂය (රු.'000) | 2 400 |
| අපේක්ෂිත සුන්බුන් අගය (රු.'000) | 400 |
| අපේක්ෂිත ඵලදායී ජීව කාලය (වසර) | 14 |

යන්ත්‍රයේ විශාල ප්‍රමාණයේ වැඩිදියුණු කිරීමක් සඳහා 2014.04.01 දින සමාගම රු. 1 800 000ක් වැය කරන ලදී. එහි ප්‍රතිඵලයක් ලෙස ඉතිරි ඵලදායී ජීව කාලය වසර 10 ක් දක්වා වැඩි විය. කෙසේ වුව ද එහි සුන්බුන් අගය නොවෙනස්ව පැවතුනි.

2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා යන්ත්‍රයේ ක්ෂය සහ 2015.03.31 දිනට එහි ධාරණ වටිනාකම කොපමණ ද?

| | ක්ෂය (රු.'000) | ධාරණ වටිනාකම (රු.'000) |
|---|---|---|
| (1) | 100 | 4 500 |
| (2) | 100 | 4 900 |
| (3) | 320 | 3 280 |
| (4) | 500 | 4 500 |
| (5) | 500 | 4 900 |

(......)

**22.** සමාගමක ඉහළ ණයගැති පිරිවැටුම් අනුපාතයක් තුළින් පෙන්නුම් කෙරෙන්නේ කුමක් ද?
(1) එහි ණයගැතියන් ඉක්මනින් ගෙවීම් කරන බව ය.
(2) එහි ණයගැතියන් ඉක්මනින් ගෙවීම් නොකරන බව ය.
(3) එහි විකුණුම්වලින් වැඩි ප්‍රමාණයක් ණය පදනම මත සිදු කරන බව ය.
(4) එහි ණය එකතු කර ගැනීමේ කාලය වැඩි බව ය.
(5) එහි විකුණුම් වැඩි වන බව ය. (......)

**23.** සමාගමක ජංගම අනුපාතය සහ ක්ෂණික අනුපාතය පිළිවෙළින් වාර 1. 2 ක් සහ වාර 0. 8 ක් විය. අනෙකුත් සියලු සාධක නොවෙනස්ව තිබියදී භාණ්ඩ ණයට මිල දී ගැනීම තුළින් මෙම අනුපාත දෙකට ඇති වන බලපෑම කුමක් ද?

| | ජංගම අනුපාතය | ක්ෂණික අනුපාතය |
|---|---|---|
| (1) | වැඩි වේ | වැඩි වේ |
| (2) | වැඩි වේ | අඩු වේ |
| (3) | අඩු වේ | අඩු වේ |
| (4) | අඩු වේ | වැඩි වේ |
| (5) | වෙනසක් නොවේ | වෙනසක් නොවේ |

(......)

**24.** භාණ්ඩයක මුළු පිරිවැය සමාන වනුයේ:
(1) සෘජු පිරිවැය සහ නිෂ්පාදන පොදු කාර්යය පිරිවැයේ එකතුවට ය.
(2) සෘජු පිරිවැය සහ විචල්‍ය පොදු කාර්යය පිරිවැයේ එකතුවට ය.
(3) ප්‍රාථමික පිරිවැය සහ විචල්‍ය පොදු කාර්යය පිරිවැයේ එකතුවට ය.
(4) ප්‍රාථමික පිරිවැය සහ කාලච්ඡේද පිරිවැයේ එකතුවට ය.
(5) ප්‍රාථමික පිරිවැය, විචල්‍ය පොදු කාර්යය පිරිවැය සහ ස්ථාවර පොදු කාර්යය පිරිවැයේ එකතුවට ය. (......)

**25.** අයිතමයක නිෂ්පාදන ප්‍රමාණය අඩු වන විට, එහි ඒකක විචල්‍ය පිරිවැය:
(1) ස්ථාවරව පැවතේ. (2) ස්ථාවර ප්‍රමාණයකින් වැඩි වේ.
(3) ස්ථාවර ප්‍රමාණයකින් අඩු වේ. (4) නිෂ්පාදනයට සමානුපාතිකව වැඩි වේ.
(5) නිෂ්පාදනයට සමානුපාතිකව අඩු වේ. (......)

**26.** ආර්ථික ඇණවුම් ප්‍රමාණ (EOQ) ආකෘතියට අදාළ ව පහත කුමන ප්‍රකාශය/ප්‍රකාශ **නිවැරදි** වේ ද?
A - කරන ලද ඇණවුම් සංඛ්‍යාව සමග සෘජුව ම මුළු ඇණවුම් කිරීමේ පිරිවැය වෙනස් වේ.
B - සාමාන්‍ය තොග මට්ටම සමග තොග රඳවා ගැනීමේ මුළු පිරිවැය සෘජුව ම වෙනස් වේ.
C - ඇණවුමක ප්‍රමාණය වැඩි වන විට, එහි මුළු රඳවාගැනීමේ පිරිවැය අඩු වන අතර මුළු ඇණවුම් පිරිවැය වැඩි වේ.
(1) A පමණි. (2) B පමණි. (3) A හා B පමණි. (4) A හා C පමණි. (5) B හා C පමණි. (......)

**27.** සමාගමක් නිෂ්පාදනය කරන භාණ්ඩයකට අදාළ වන තොරතුරු පහත දැක්වේ.

| | රු.'000 |
|---|---|
| භාවිත කළ සෘජු අමුද්‍රව්‍ය | 240 |
| සෘජු ශ්‍රමය | ? |
| නිෂ්පාදන පොදු කාර්යය පිරිවැය | ? |
| මුළු නිෂ්පාදන පිරිවැය | 600 |

නිෂ්පාදන පොදු කාර්යය පිරිවැය, සෘජු ශ්‍රම පිරිවැයෙන් 80% ක රේටයකට අන්තර්ග්‍රහනය කිරීම සමාගමේ ප්‍රතිපත්තිය වේ. මුළු නිෂ්පාදන පිරිවැයේ අඩංගු සෘජු ශ්‍රම පිරිවැය කොපමණ ද?
(1) රු. 72 000 (2) රු. 120 000 (3) රු. 200 000 (4) රු. 360 000 (5) රු. 480 000 (......)

**28.** ලී බඩු නිෂ්පාදන සමාගමක් 2015 මාර්තු මාසය තුළ දී පහත පිරිවැය දරන ලදී.

| | **රු.'000** |
|---|---|
| භාවිත කළ අමුද්‍රව්‍ය: | |
| දැව | 2 000 |
| ඇණ | 100 |
| තීන්ත | 400 |
| වේතන: | |
| වඩු කාර්මිකයෝ | 800 |
| නිෂ්පාදන සුපරීක්ෂකවරුන් | 400 |
| යන්ත්‍ර ක්ෂය | 300 |
| විකුණුම් කොමිස් | 200 |
| පරිපාලන සේවක වැටුප් | 300 |

2015 මාර්තු මාසය සඳහා නිෂ්පාදිත පිරිවැය සහ කාලච්ඡේද පිරිවැය:

| | **නිෂ්පාදිත පිරිවැය (රු.'000)** | **කාලච්ඡේද පිරිවැය (රු.'000)** |
|---|---|---|
| (1) | 2 500 | 2 000 |
| (2) | 2 800 | 1 700 |
| (3) | 3 300 | 1 200 |
| (4) | 3 700 | 800 |
| (5) | 4 000 | 500 |

(……)

**29.** පහත තොරතුරු සමාගමක් නිෂ්පාදනය කරන භාණ්ඩයකට අදාළ වේ.

| | **රු.'000** |
|---|---|
| විකුණුම් | 1 200 |
| විචල්‍ය පිරිවැය | (600) |
| දායකය | **600** |
| ස්ථාවර පිරිවැය | (240) |
| ලාභය | **360** |

වර්තමාන ක්‍රියාකාරකම් මට්ටමේ දී සමච්ඡේදන ලක්ෂ්‍යය සහ ආරක්ෂිත ආන්තිකය රුපියල් වලින්:

| | **සමච්ඡේදන ලක්ෂ්‍යය (රු.'000)** | **ආරක්ෂිත ආන්තිකය (රු.'000)** |
|---|---|---|
| (1) | 120 | 1 080 |
| (2) | 180 | 1 020 |
| (3) | 480 | 720 |
| (4) | 600 | 600 |
| (5) | 800 | 400 |

(……)

**30.** සමාගමක්, නිෂ්පාදනය සඳහා භාවිත කරන පැරණි යන්ත්‍රය වෙනුවට අළුත් යන්ත්‍රයක් ආදේශ කිරීමට සලකා බලමින් සිටී. මෙම පැරණි යන්ත්‍රයේ මෙන් ම නව යන්ත්‍රයේ ද ඵලදායී ජීව කාලය වසර 4 කි. පහත තොරතුරු ද දී ඇත.

| **විස්තරය** | **පැරණි යන්ත්‍රය (රු.'000)** | **නව යන්ත්‍රය (රු.'000)** |
|---|---|---|
| ගැනුම් මිල | 9 000 | 10 000 |
| වර්තමාන විකුණුම් වටිනාකම | 4 000 | – |
| 4 වන වසර අවසානයේ දී අපේක්ෂිත සුන්බුන් අගය | – | 2 000 |
| වාර්ෂික මෙහෙයුම් පිරිවැය (ක්ෂය නොමැතිව) | 4 500 | 3 000 |

නව යන්ත්‍රය මිල දී ගන්නේ නම් ආරම්භක ශුද්ධ මුදල් ගලා යැම සහ 4 වන වර්ෂයේ මුදල් ගලා ඒම:

| | **ආරම්භක ශුද්ධ මුදල් ගලා යැම (රු.'000)** | **4 වන වර්ෂයේ මුදල් ගලා ඒම (රු.'000)** |
|---|---|---|
| (1) | 5 000 | 3 500 |
| (2) | 6 000 | 1 500 |
| (3) | 6 000 | 3 500 |
| (4) | 10 000 | 1 500 |
| (5) | 10 000 | 3 500 |

(……)

2.1.3. I ප්‍රශ්න පත්‍රයේ අංක 01 සිට 30 තෙක් ප්‍රශ්න සඳහා අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

| ප්‍රශ්න අංකය | පිළිතුර | ප්‍රශ්න අංකය | පිළිතුර |
|---|---|---|---|
| 01. | 3 | 16. | 1 |
| 02. | 2 | 17. | 2 |
| 03. | 3 | 18. | 2 |
| 04. | 5 | 19. | 2 |
| 05. | 5 | 20. | 3 |
| 06. | 4 | 21. | 5 |
| 07. | 3 | 22. | 1 |
| 08. | 5 | 23. | 3 |
| 09. | 4 | 24. | 5 |
| 10. | 5 | 25. | 1 |
| 11. | 2 | 26. | 3 |
| 12. | 4 | 27. | 3 |
| 13. | 2 | 28. | 5 |
| 14. | 1 | 29. | 3 |
| 15. | 2 | 30. | 3 |

නිවැරදි එක් පිළිතුරකට ලකුණු **04** බැගින් මුළු ලකුණු **120**කි.

## 2.1.4 I ප්‍රශ්න පත්‍රයේ අංක 31 සිට 50 තෙක් ප්‍රශ්න සඳහා අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

- **ප්‍රශ්න අංක 31 සිට 50 තෙක් ප්‍රශ්නවලට කෙටි පිළිතුරු තිත් ඉර මත ලියන්න.**

**31.** ආයතනයක කළමනාකරණ ගිණුම්කරණයේ කාර්යභාරයට අදාළ ව පහත ප්‍රකාශ **සත්‍ය** හෝ **අසත්‍ය** බව දක්වන්න.

| ප්‍රකාශය | සත්‍ය/අසත්‍ය |
|---|---|
| A - එය ආයතනයක කළමනාකරුවන්ට තීරණ ගැනීම සඳහා තොරතුරු සපයයි. | :............................ |
| B - එය ආයතනයක් පිළිබඳ අතීත සහ අනාගත තොරතුරු සපයයි. | :............................ |
| C - එය ගිණුම්කරණ ප්‍රමිත මගින් නියම කරන ලද තොරතුරු සපයයි. | :............................ |
| D - එය ආයතනයක් පිළිබඳ ඇල්මක් දක්වන සියළු පාර්ශ්වයන්ට ඔවුන්ගේ ඉල්ලීම මත තොරතුරු සපයයි. | :............................ |

### පිළිතුර

31. A - සත්‍ය (01)
    B - සත්‍ය (01)
    C - අසත්‍ය (01)
    D - අසත්‍ය (01)

**32.** රු. 500 000 ක මුදලක් ආයෝජනය කරමින් 2014.04.01 දින සුමුදු විසින් ව්‍යාපාරයක් ආරම්භ කරන ලදී. වර්ෂය තුළ දී සුමුදු රු. 200 000 ක් වටිනා ඡායා පිටපත් යන්ත්‍රයක් ව්‍යාපාරයට ලබා දුන් අතර ව්‍යාපාරයෙන් රු. 50 000 ක් ගැනිලි ලෙස ලබා ගන්නා ලදී. 2015.03.31 දිනෙන් අවසන් වර්ෂයේ දී ව්‍යාපාරය රු. 120 000 ක ලාභයක් උපයන ලදී.

(අ) 2015.03.31 දිනට ව්‍යාපාරයේ හිමිකම වැඩිවීමට දායක වන අයිතම **දෙක** (වටිනාකම සහිතව) සඳහන් කරන්න.
1. .................................................. 2. ..................................................

(ආ) 2015.03.31 දිනට ව්‍යාපාරයේ ශුද්ධ වත්කම් කොපමණ ද? රු. ..................................................

### පිළිතුර

32. (අ) * ඡායාපිටපත් යන්ත්‍රය/අතිරේක ප්‍රාග්ධනය රු.200 000 (01)
    * වර්ෂයේ ලාභය රු. 120 000 (01)

(ආ) රු.770 000 (02)

**33.** පහත මූලික පොත්වලට අදාළ මූලාශ්‍ර ලියවිලි සඳහන් කරන්න.

| මූලික පොත | මූලාශ්‍ර ලියවිල්ල |
|---|---|
| A - විකුණුම් ජර්නලය | :......................................... |
| B - පොදු ජර්නලය | :......................................... |
| C - මුදල් ගෙවීම් ජර්නලය | :......................................... |
| D - ආපසු යැවුම් ජර්නලය | :......................................... |

### පිළිතුර

33. A - ඉන්වොයිසිය (01)
    B - ජර්නල් වවුචරය (01)
    C - ගෙවීම් වවුචරය (01)
    D - හරපත (01)

**34.** දේපළ, පිරියත සහ උපකරණවලට අදාළ ව ව්‍යාපාරයක පොදු ජර්නලයේ සටහන් කරනු ලබන ගනුදෙනු හෝ සිද්ධි වර්ග **හතරක්** සඳහන් කරන්න.

1. ..........................................................................................
2. ..........................................................................................
3. ..........................................................................................
4. ..........................................................................................

## පිළිතුර

34.
1. දේපළ පිරියත හා උපකරණ ණයට ගැනුම්
2. දේපළ පිරියත හා උපකරණ ණයට විකුණුම්
3. දේපළ පිරියත හා උපකරණ ක්ෂය
4. දේපළ පිරියත හා උපකරණ ඉවත් කිරීම
5. දේපළ පිරියත හා උපකරණ හුවමාරුවීම්
6. දේපළ පිරියත හා උපකරණ ප්‍රත්‍යාගණනය

ඕනෑම අයිතමයකට ලකුණු 01 බැගින් ලකුණු (04)

**35.** ව්‍යාපාරයක 2015.03.31 දිනට බැංකු ගිණුමේ ශේෂය, එහි බැංකු ප්‍රකාශනයේ ශේෂයට වඩා වැඩි විය. (ව්‍යාපාරයේ බැංකු ගිණුමෙහි හෝ බැංකු ප්‍රකාශනයේ වැරදි නොතිබුණ බවට උපකල්පනය කරන්න).

මෙම වෙනසට හේතු විය හැකි කරුණු **දෙකක්** සඳහන් කරන්න.

1. ..........................................................................................
2. ..........................................................................................

## පිළිතුර

35.
1. තැන්පත්කළ නමුත් උපලබ්ධි නොවූ චෙක්පත්
2. බැංකු ගාස්තු, අයිරාපොලී
3. ස්ථාවර නියෝග ගෙවීම්
4. තැන්පත් කළ නමුත් අගරුවූ චෙක්පත්

ඕනෑම අයිතම 1කට ලකුණු 2 බැගින් ලකුණු (04)

**36.** ලාභ ලැබීමේ පරමාර්ථයකින් තොර සංවිධානයක ලැබීම් හා ගෙවීම් ගිණුම සහ ආදායම් වියදම් ගිණුම අතර වෙනස පහත කරුණු මත පදනම් ව සඳහන් කරන්න.

| කරුණ | ලැබීම් හා ගෙවීම් ගිණුම | ආදායම් වියදම් ගිණුම |
|---|---|---|
| (අ) පිළියෙල කිරීමේ අරමුණ | .............................................. | .............................................. |
| (ආ) පිළියෙල කිරීමේ පදනම | .............................................. | .............................................. |

## පිළිතුර

36.

| | ලැබීම් හා ගෙවීම් ගිණුම | ආදායම් වියදම් ගිණුම |
|---|---|---|
| (අ) | මුදල් ශේෂය දැන ගැනීම/ (01) මුදල් ලැබීම් හා ගෙවීම් දැන ගැනීම | අතිරික්තය/ඌනතාවය සොයා ගැනීමට/ (01) කාර්ය සාධනය/මූල්‍ය ප්‍රතිඵලය දැන ගැනීම |
| (ආ) | මුදල් පදනම (01) | උපචිත පදනම (01) |

**37.** සීමිත අහමඩ් පොදු සමාගමේ විස්තීරණ ආදායම් ප්‍රකාශනයෙහි A, B, C සහ D යන අක්ෂරවලින් දක්වා ඇති පහත තොරතුරු ඉදිරිපත් කිරීමට අදාළ වන ගිණුම්කරණ සංකල්ප සඳහන් කරන්න.

සීමිත අහමඩ් පොදු සමාගම........................................................ A

2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා විස්තීරණ ආදායම් ප්‍රකාශනය.............. B

රු.' 000 ........................ C

| | | | |
|---|---|---|---|
| විකුණුම් අයභාරය | XXX | } ................... | D |
| විකුණුම් පිරිවැය | (XXX) | | |

**ගිණුම්කරණ සංකල්පය**

A - ..........................................................................

B - ..........................................................................

C - ..........................................................................

D - ..........................................................................

## පිළිතුර

37. A - ඒකක සංකල්පය (01)
    B - කාලච්ඡේද සංකල්පය (01)
    C - මූල්‍ය මිණුම් සංකල්පය (01)
    D - ගැලපුම් සංකල්පය (01)

**38.** ශ්‍රී ලංකාව තුළ අනුගමනය කරන 'මූල්‍ය වාර්තාකරණයේ සංකල්පනාත්මක රාමුවට' අනුව වගකීමක ලක්ෂණ **තුන** සඳහන් කරන්න.

1. ..........................................................................
2. ..........................................................................
3. ..........................................................................

## පිළිතුර

38. 1. අතීත ගනුදෙනුවක හෝ සිද්ධියක ප්‍රතිඵලයක් වීම
    2. ව්‍යාපාරයට වර්තමාන බැඳීමක් පැවතීම
    3. අනාගත ආර්ථික ප්‍රතිලාභ සහිත සම්පත් ව්‍යාපාරයෙන් පිටතට ගලා යෑම අපේක්ෂිත බව (04)

**39.** පහත තොරතුරු 2014.04.01 දින ආරම්භ කරන ලද පාසල් බෑග් නිපදවන සුනිමල්ගේ ව්‍යාපාරය හා බැදේ.

| **විස්තරය** | **රු.'000** |
|---|---|
| අමුද්‍රව්‍ය ගැනුම් | 500 |
| සෘජු වේතන | 200 |
| 2015.03.31 දිනට අමුද්‍රව්‍ය තොගය | 100 |
| 2015.03.31 දිනට නොනිමි ද්‍රව්‍ය තොගය (ප්‍රාථමික පිරිවැයට අගය කරන ලද) | 150 |
| නිෂ්පාදන පොදු කාර්යය පිරිවැය | 450 |

2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා පහත දෑ ගණනය කරන්න:

(අ) ප්‍රාථමික පිරිවැය රු. ............................ (ආ) නිෂ්පාදන පිරිවැය රු. ............................

## පිළිතුර

39. (අ) රු.450 000 (02)
    (ආ) රු.900 000 (02)

**40.** හවුල් ව්‍යාපාරයක මූල්‍ය තත්ත්ව ප්‍රකාශනයේ හිමිකම යටතේ ඉදිරිපත් කරනු ලබන අයිතම **දෙකක්** සඳහන් කරන්න.

1. ........................................................ 2. ........................................................

## පිළිතුර

40. 1. හවුල්කරුවන්ගේ ප්‍රාග්ධන ගිණුම් ශේෂ/සංචිත/නොබෙදූ ලාභ (02)
    2. හවුල්කරුවන්ගේ ජංගම ගිණුම් ශේෂ (02)

**41.** ලාභාලාභ සමසමව බෙදා ගනිමින් පවත්වාගෙන යනු ලබන අශාන් සහ කුෂාන්ගේ හවුල් ව්‍යාපාරය හා පහත තොරතුරු බැඳේ.

**ජංගම ගිණුම් ශේෂයන්:**

| | **2015.03.31 දිනට (රු.'000)** | **2014.03.31 දිනට (රු.'000)** |
|---|---|---|
| අශාන් | 750 | 500 |
| කුෂාන් | 450 | 300 |

හවුල් ව්‍යාපාර ගිවිසුමට අනුව අශාන් රු. 150 000 ක වාර්ෂික වැටුපකට හිමිකම් ලබයි. වර්ෂය තුළ දී අශාන් සහ කුෂාන් පිළිවෙළින් රු. 100 000 ක් සහ රු. 50 000 ක් මුදලින් ලබා ගන්නා ලදී.

පහත දෑ ගණනය කරන්න:

(අ) 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා හවුල් ව්‍යාපාරයේ ලාභය රු. ..........................................

(ආ) 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා අශාන් සහ කුෂාන්ගේ ලාභ කොටස:

අශාන් රු. ........................ කුෂාන් රු. ........................

## පිළිතුර

41. (අ) රු.550 000 (02)

(ආ) අශාන් රු.200 000 (01) කුෂාන් රු.200 000 (01)

**42.** සමාගමක් 2015.03.31 දිනෙන් අවසන් වර්ෂයේ දී කොටසක් රු. 20 බැගින් සාමාන්‍ය කොටස් 200 000 ක් නිකුත් කරන ලදී. මුළු මුදල සමඟ කොටස් 300 000 ක් සඳහා අයදුම්පත් ලැබුණි. සමාගම රු. 50 000 ක් කොටස් නිකුත් කිරීමේ වියදම් ලෙස දරන ලදී. සමාගම කොටස් 200 000 සමානුපාතිකව විභජනය කරන ලද අතර අතිරික්ත මුදල් අයදුම්කරුවන් වෙත නැවත යවන ලදී.

පහත දෑ සඳහන් කරන්න:

(අ) කොටස් විභජනය කිරීම සටහන් කිරීම සඳහා ජර්නල් සටහන (*සංලක්ෂ්‍යය අවශ්‍ය නොවේ.*)

.....................................................................................................................

.....................................................................................................................

(ආ) ඉහත ගනුදෙනු නිසා වර්ෂය තුළ දී හිමිකමෙහි **ශුද්ධ වැඩි වීම** රු. ............................

## පිළිතුර

42. (අ) කොටස් නිකුත් කිරීමේ ගිණුම/අයදුම් හා විභජන ගිණුම - හර රු.4 000 000

ප්‍රකාශිත සාමාන්‍ය කොටස් ප්‍රාග්ධන ගිණුම - රු. 4 000 000 (02)

(ආ) රු.3 950 000 (02)

**43.** සුදුසු තීරුවේ '√' ලකුණක් යොදමින් නිෂ්පාදන සමාගමක පහත ගනුදෙනු තුළින් ඇති වන මුදල් ගලා ඒම LKAS 7 (මුදල් ප්‍රවාහ ප්‍රකාශනය) ප්‍රමිතයට අනුව මෙහෙයුම්, ආයෝජන සහ මූල්‍ය ක්‍රියාකාරකම් යටතේ වර්ග කරන්න.

| **ගනුදෙනුව** | **ක්‍රියාකාරකම්:** | | |
|---|---|---|---|
| | **මෙහෙයුම්** | **ආයෝජන** | **මූල්‍ය** |
| A - සාමාන්‍ය කොටස් නිකුතුවෙන් මුදල් ලැබීම | .............. | .............. | .............. |
| B - වෙළෙඳ ණයගැතියන්ගෙන් මුදල් ලැබීම | .............. | .............. | .............. |
| C - මෝටර් රථයක් විකිණීමෙන් මුදල් ලැබීම | .............. | .............. | .............. |
| D - ස්ථාවර තැන්පතුවක් මත පොලිය ලැබීම | .............. | .............. | .............. |

## පිළිතුර

| 43. | මෙහෙයුම් | ආයෝජන | මූල්‍ය | |
|---|---|---|---|---|
| A | - | - | √ | (01) |
| B | √ | - | - | (01) |
| C | - | √ | - | (01) |
| D | - | √ | - | (01) |

**44.** LKAS 8 (ගිණුම්කරණ ප්‍රතිපත්ති, ගිණුම්කරණ ඇස්තමේන්තු වෙනස්වීම් සහ වැරදි) ප්‍රමිතයට අනුව සමාගමක පහත දැක්වෙන අවස්ථාවන් ගිණුම්කරණ ඇස්තමේන්තු වෙනස්වීමක් නිරූපණය කරයි ද යන්න සඳහන් කරන්න.

| අවස්ථාව | ගිණුම්කරණ ඇස්තමේන්තු වෙනස්වීම් (ඔව්/නැත) |
|---|---|
| A - ආරම්භක තොගය අධිගණනය වීම නිසා ලාභයෙහි ඇති වන වෙනස්වීම | ................................ |
| B - වර්ෂය අවසානයේ ණයගැති ශේෂය මත අඩමාණ ණය වෙන් කිරීමේ අනුපාතය වෙනස්වීම | ................................ |
| C - තොග තක්සේරු ක්‍රමය පෙර-පිවිසි පෙර-පිට (FIFO) ක්‍රමයේ සිට භරිත සාමාන්‍ය ක්‍රමයට වෙනස්වීම | ................................ |
| D - ගොඩනැගිලිවල අපේක්ෂිත ඵලදායී ජීව කාලය වසර 30 සිට 35 දක්වා වෙනස්වීම | ................................ |

**පිළිතුර**

44. A - නැත (01)
    B - ඔව් (01)
    C - නැත (01)
    D - ඔව් (01)

● **ප්‍රශ්න අංක 45 සහ 46 ට පිළිතුරු සැපයීමට සමාගමකට අදාළ පහත තොරතුරු භාවිත කරන්න.**

| විස්තරය | රු.'000 |
|---|---|
| 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා: | |
| ලාභය | 500 |
| පොලී වියදම | 150 |
| ආදායම් බදු වියදම | 100 |
| සාමාන්‍ය කොටස් මත අතුරු ලාභාංශ ගෙවීම | 300 |
| 2015.03.31 දිනට ප්‍රකාශිත සාමාන්‍ය කොටස් ප්‍රාග්ධනය | 1 800 |
| 2014.04.01 දිනට රඳවාගත් ඉපැයුම් | 2 500 |
| 2015.03.31 දිනට මුළු වත්කම් | 7 500 |

**45.** පහත දෑ ගණනය කරන්න:
(අ) පොලී ආවරණ අනුපාතය (වාර) ................................
(ආ) මුළු වත්කම් මත ප්‍රතිලාභ අනුපාතය - වසර අග වත්කම් මත (%) ................................

**පිළිතුර**

45. (අ) වාර 5 (02)    (ආ) 10% (02)

**46.** පහත දෑ ගණනය කරන්න:
(අ) 2015.03.31 දිනට හිමිකම රු. ................................ (ආ) ණය අනුපාතය (%) ........................

**පිළිතුර**

46. (අ) රු.4 500 000 (02)    (ආ) 40% (02)

**47.** පහත තොරතුරු සමාගමක් විසින් නිෂ්පාදනය කරන 'P' භාණ්ඩයට අදාළ වේ.

| | | |
|---|---|---|
| ආර්ථික ඇණවුම් ප්‍රමාණය (EOQ) | ඒකක | 200 |
| වාර්ෂික ඉල්ලුම | ඒකක | 8 000 |
| ඇණවුම් කිරීමේ පිරිවැය | ඇණවුමට | රු. 250 |
| රඳවා ගැනීමේ පිරිවැය | ඒකකයකට | රු. 100 |

පහත දෑ ගණනය කරන්න:
(අ) මුළු ඇණවුම් පිරිවැය රු. ........................ (ආ) මුළු රඳවා ගැනීමේ පිරිවැය රු. ........................

**පිළිතුර**

47. (අ) රු.10 000 (02)    (ආ) රු.10 000 (02)

**48.** ඇඟළුම් කම්හලක යන්ත්‍ර ක්‍රියාකරවන්නකුට පැයකට රු. 50 ක් ගෙවනු ලබන අතර සෑම අතිකාල පැයකටම රු. 60 ක් ගෙවනු ලැබේ. සතියකට සාමාන්‍යයෙන් වැඩ කරන පැය ගණන 40 කි. 2015 මාර්තු මාසයේ පළමු සතිය තුළ දී යන්ත්‍ර ක්‍රියාකරු පැය 45 ක් වැඩ කර ඇත.

පහත දැ ගණනය කරන්න:

(අ) 2015 මාර්තු මාසයේ පළමු සතිය සඳහා යන්ත්‍ර ක්‍රියාකරුගේ මුළු වේතනය රු. ..............................

(ආ) යන්ත්‍ර ක්‍රියාකරුගේ වේතනය තුළ අඩංගු සෘජු ශ්‍රම පිරිවැය රු. ..............................

## පිළිතුර

48. (අ) රු.2 300 (02) (ආ) රු.2 250 (02) /2 300 / 2 000

**49.** තනි භාණ්ඩයක් නිෂ්පාදනය කරන සමාගමකට පහත තොරතුරු අදාළ වේ.

| **ඒකකයක විචල්‍ය පිරිවැය:** | | **ස්ථාවර පිරිවැය:** | |
|---|---|---|---|
| විකුණුම් සහ පරිපාලන | රු. 20 | විකුණුම් සහ පරිපාලන | රු. 120 000 |
| නිෂ්පාදන | රු. 40 | නිෂ්පාදන | රු. 150 000 |

සමාගම ඒකක 5 000 ක් නිෂ්පාදනය කර විකුණන ලද අතර එම ක්‍රියාකාරකම් මට්ටමේ දී රු. 180 000 ක ලාභයක් උපයන ලදී.

පහත දැ ගණනය කරන්න:

(අ) ඒකකයක දායකය රු. ........................... (ආ) ඒකකයක විකුණුම් මිල රු. ..................................

## පිළිතුර

49. (අ) රු.90 (02) (ආ) රු.150 (02)

**50.** ඵලදායී ජීව කාලය වසර 5 ක් සහ සුන්බුන් අගය රු. 300 000 ක් වූ නව යන්ත්‍රයක් රු. 1 000 000 කට මිලදී ගැනීමට සමාගමක් සැලසුම් කරමින් සිටී. මෙම යන්ත්‍රයෙන් සෑම වර්ෂයකදී ම රු. 110 000 ක වාර්ෂික ලාභයක් ඉපැයීමට අපේක්ෂා කෙරේ. මෙම යන්ත්‍රයෙන් ජනනය වන මුදල් ප්‍රවාහයන් එහි ඵලදායී ජීව කාලය තුළ සමානව සිදුවේ යැ'යි ද අපේක්ෂා කෙරේ.

මෙම ව්‍යාපෘතිය සඳහා පහත දැ ගණනය කරන්න:

(අ) 5 වන වර්ෂයේ ශුද්ධ මුදල් ප්‍රවාහය රු. ........................ (ආ) පිළිගෙවුම් කාලය (වසර) ........................

## පිළිතුර

50. (අ) රු.550 000 (02) (ආ) වර්ෂ 04 (02)

❊ ❊ ❊

## 2.1.5 I ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා:

I පත්‍රය සඳහා පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ




* මූල්‍ය ගිණුම්කරණය පිළිබඳ මූලික දැනුම සහ අවබෝධය පරීක්ෂා කිරීම සඳහා ඇතුළත් කර තිබූ ප්‍රශ්න අංක 1, 2, 6, 31, 33 ප්‍රශ්න සඳහා අයදුම්කරුවන්ගෙන් 75%කට වඩා වැඩි ප්‍රතිශතයක් නිවැරදි ව පිළිතුරු සැපයීමට සමත් වී ඇති බව ඉහත ප්‍රස්තාරයට අනුව පෙනේ.

* එමෙන්ම හවුල් ව්‍යාපාර, මුදල් ප්‍රවාහ ප්‍රකාශනය හා ශ්‍රම පිරිවැය ආශ්‍රිත මූලික කරුණු පිළිබඳ ව ඇතුළත් කර තිබූ ප්‍රශ්න අංක 40, 43 සහ 48 ප්‍රශ්නවලට ද අයදුම්කරුවන්ගෙන් 75%ක් පමණ සාර්ථකව පිළිතුරු සපයා ඇත.

* ප්‍රශ්න අංක 08, 12, 19, 23, 45, 46, 47, 50 යන ප්‍රශ්න සඳහා නිවැරදි පිළිතුරු සපයා ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 30%ක් හෝ ඊට අඩුවෙනි. ඒ අනුව පෙන්නුම් කරන්නේ වැරදි නිවැරදි කිරීම, වැටුප් ලේඛනය (ශ්‍රම පිරිවැය) සමාගමක මුළු ආදායම් හා විස්තීර්ණ ආදායම, අනුපාත, ආර්ථික ඇනවුම් ප්‍රමාණය, ආයෝජන ඇගයීමේ ශිල්ප ක්‍රම යනාදිය පිළිබඳ සිසුන්ගේ දැනුම හා අවබෝධය ප්‍රමාණවත් නොවන බවයි. ඒ අනුව ඉහත විෂය කරුණුවල යෙදීම් පිළිබඳ ව ප්‍රායෝගික නිදසුන් සහිතව පන්ති කාමරය තුළ ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කිරීම වැදගත් වනු ඇත.

* ප්‍රශ්න අංක 3, 11, 17, 18, 20, 21, 22, 25, 26, 27, 30, 42, 49 යන ප්‍රශ්න සඳහා නිවැරදි ව පිළිතුරු සපයා ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 30%-50% අතර ප්‍රතිශතයකි. එම ප්‍රශ්නවලින් පරීක්ෂා කිරීමට උත්සාහ කර ඇත්තේ ගිණුම්කරණ සංකල්ප, LKAS 8, LKAS 37, LKAS 7 (මුදල් ප්‍රවාහ ප්‍රකාශනය) මුළු විස්තීර්ණ ආදායම, මූල්‍ය ගිණුම්කරණ අනුපාත, පිරිවැය වර්ගීකරණය, ආර්ථික ඇනවුම් ප්‍රමාණ ආකෘතිය, ආයෝජන ඇගයීමේ ශිල්ප ක්‍රම, සමාගමක කොටස් නිකුත් කිරීම, ආන්තික පිරිවැයකරණය ආදිය පිළිබඳ දැනුම සහ අවබෝධයයි.

* ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේදී ඉහත විෂයය කොටස් සම්බන්ධව වැඩි අවධානයක් යොමු කරමින් ප්‍රායෝගික මට්ටමේ නිපුණතා පාදක කරගෙන අදාළ ගැටළු හා පිළිතුරු සාකච්ඡා කරන්නේ නම් සිසුන්ට වඩාත් ප්‍රයෝජනවත් බව කිව හැකිය.

2.1.6 I වන ප්‍රශ්න පත්‍රයේ අංක 1 සිට 30 දක්වා ප්‍රශ්න සඳහා වරණ තෝරා ඇති ආකාරය - ප්‍රතිශත ලෙස

| ප්‍රශ්න අංකය | නිවැරදි වරණය | එක් එක් වරණය තෝරා ඇති ප්‍රතිශතය | | | | | |
|---|---|---|---|---|---|---|---|
| | | 1 | 2 | 3 | 4 | 5 | කිසිදු පිළිතුරක් සපයා නොමැත |
| 1 | 3 | 5% | 2% | 85% | 5% | 3% | - |
| 2 | 2 | 6% | 91% | 1% | 1% | 1% | - |
| 3 | 3 | 7% | 17% | 46% | 5% | 24% | 1% |
| 4 | 5 | 10% | 13% | 7% | 5% | 64% | 1% |
| 5 | 5 | 16% | 4% | 12% | 6% | 62% | - |
| 6 | 4 | 1% | 4% | 4% | 84% | 7% | - |
| 7 | 3 | 14% | 13% | 62% | 4% | 6% | 1% |
| 8 | 5 | 14% | 43% | 9% | 10% | 23% | 1% |
| 9 | 4 | 15% | 9% | 4% | 66% | 5% | 1% |
| 10 | 5 | 1% | 5% | 8% | 16% | 70% | - |
| 11 | 2 | 10% | 47% | 11% | 7% | 25% | - |
| 12 | 4 | 19% | 16% | 32% | 15% | 17% | 1% |
| 13 | 2 | 9% | 60% | 6% | 10% | 14% | 1% |
| 14 | 1 | 58% | 7% | 6% | 26% | 3% | - |
| 15 | 2 | 9% | 50% | 16% | 11% | 13% | 1% |
| 16 | 1 | 50% | 8% | 29% | 5% | 7% | 1% |
| 17 | 2 | 11% | 42% | 10% | 6% | 30% | 1% |
| 18 | 2 | 35% | 35% | 18% | 7% | 4% | 1% |
| 19 | 2 | 40% | 17% | 11% | 19% | 12% | 1% |
| 20 | 3 | 18% | 9% | 37% | 15% | 19% | 2% |
| 21 | 5 | 6% | 8% | 16% | 27% | 42% | 1% |
| 22 | 1 | 38% | 9% | 36% | 10% | 6% | 1% |
| 23 | 3 | 13% | 24% | 26% | 10% | 26% | 1% |
| 24 | 5 | 30% | 5% | 10% | 4% | 51% | - |
| 25 | 1 | 34% | 6% | 9% | 18% | 33% | - |
| 26 | 3 | 15% | 7% | 37% | 32% | 8% | 1% |
| 27 | 3 | 23% | 15% | 44% | 9% | 8% | 1% |
| 28 | 5 | 7% | 5% | 17% | 20% | 51% | - |
| 29 | 3 | 12% | 12% | 55% | 13% | 6% | 2% |
| 30 | 3 | 7% | 20% | 38% | 17% | 16% | 2% |

වගුව 01

ප්‍රශ්න අංක 1 සිට 30 තෙක් ප්‍රශ්නවලට ප්‍රතිචාර ලෙස එක් එක් වරණය තෝරන ලද අයදුම්කරුවන්ගේ ප්‍රතිශත ඉහත වගු අංක 01හි දැක්වේ. එක් එක් ප්‍රශ්නය සඳහා නිවැරදි වරණය තෝරන ලද අයදුම්කරුවන්ගේ ප්‍රතිශතය අඳුරු කර දක්වා ඇත. ඒ අතුරින් විශේෂතා හඳුනාගත් ප්‍රශ්න කිහිපයක් පිළිබඳ ව විග්‍රහයක් පහත දැක්වේ.

ප්‍රශ්න අංක 12 සඳහා **නිවැරදි පිළිතුර වූ 4 වන වරණය** තෝරාගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 15%ක් පමණි. අයදුම්කරුවන්ගෙන් 32%ක් 3 වන වරණය ද, 19%ක් 1 වන වරණය ද තෝරාගෙන තිබුණි. 3 වන වරණය තෝරාගත් අයදුම්කරුවන් වැටුප්/වේතන වියදම ලෙස සලකා ඇත්තේ දළ වැටුප පමණි. සමාගමේ EPF, ETF දායකත්වයන් නිෂ්පාදන ගිණුමේ සටහන් නොකරන අයිතම ලෙස සලකා ඇත. 1 වන වරණය තෝරාගත් අයදුම්කරුවන් ශුද්ධ වැටුප, වැටුප්/වේතන වියදම ලෙස සලකා ඇත. නිෂ්පාදන වියදම් පිළිබඳ ව ප්‍රායෝගික අවබෝධයක් ලැබෙන පරිදි ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සකස් වීම වැදගත් වේ.



ප්‍රශ්න අංක 19 සඳහා **නිවැරදි පිළිතුර වූ 2 වන වරණය** තෝරාගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 17%ක්

පමණි. අයදුම්කරුවන්ගෙන් 40%ක්ම සිය පිළිතුර ලෙස තෝරා ඇත්තේ අංක 1 වේ. එම පිළිතුර තෝරා ගැනීමේදී වෙළෙඳ වට්ටම් ආදායම් ලෙස ගෙන ඇති අතර, පසුගිය වර්ෂයේ ප්‍රත්‍යාගණනය මත වූ හිඟය අඩුකර ඇත. ඒ අනුව පැහැදිලි වන්නේ, LKAS 1 පිළිබඳ සිසුන්ගේ අවබෝධය දුර්වල මට්ටමක පවතින බවයි. ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලියේදී **මුළු ආදායම** හා **වෙනත් විස්තීර්ණ ආදායම** වෙනස්වන ආකාරය පිළිබඳ ව පැහැදිලි අවබෝධයක් සිසුන්ට ලබාදීම ප්‍රයෝජනවත් වනු ඇත.

ප්‍රශ්න අංක 08 සඳහා **නිවැරදි පිළිතුර** වූ **05 වන වරණය** තෝරා ගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 23%ක් පමණි. 43%ක් 2 වන වරණය ද 14%ක් 1 වන වරණය ද තෝරා ඇත. 2 වන වරණය ද තෝරා ගැනීමට හේතුව වී ඇත්තේ එම ප්‍රශ්නයට අදාළ ව්‍යාපාරය "**ණයගැති, ණයහිමි පාලන ගිණුම් පවත්වා නොගනී**"ය යන උපකල්පනය මත පිහිටා අදාළ ගණනය කිරීම් කර තිබීමයි. ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලියේදී ගිණුම්කරණ පරිචයෙහි සිදුවන කාලීන වෙනස්කම් පිළිබඳ ව සිසුන්ට අවබෝධයක් ලබාදීම වැදගත් වේ.

ප්‍රශ්න අංක 23 සඳහා **නිවැරදි පිළිතුර** වූ **3 වන වරණය** තෝරා ගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 26%ක් පමණි. අයදුම්කරුවන්ගෙන් තවත් 26%ක් 5 වන වරණය ද 24%ක් දෙවන වරණය ද තෝරා ගෙන ඇත. අනුපාත ගණනය කිරීමේදී අදාළ සූත්‍රයට ඉලක්කම් ආදේශ කිරීමට පමණක් සිසුන් බොහෝ විට පුරුදු පුහුණු වී ඇති බව පෙනී යන අතර, අනුපාත අර්ථකතනය කිරීමේ හැකියාව දුර්වල මට්ටමක පවතින බව නිරීක්ෂණය වේ. ඒ අනුව ප්‍රායෝගික කරුණු ඇතුළත් අභ්‍යාස ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේ දී යොදා ගැනීම උචිත වේ.

ප්‍රශ්න අංක 25 සඳහා **නිවැරදි පිළිතුර** වූ **1 වන වරණය** තෝරා ගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 34%ක් පමණි. අයදුම්කරුවන්ගෙන් 33%ක් 5 වන වරණය ද 18%ක් 4 වන වරණය ද සිය පිළිතුර ලෙස තෝරා ගෙන ඇත. ප්‍රශ්නය පැහැදිලිව කියවා තේරුම් ගෙන නොමැති වීම සහ පිරිවැය හැසිරීම පිළිබඳ අවබෝධය අඩුවීම මෙයට හේතු විය හැකිය. බොහෝ අයදුම්කරුවන් **ඒකකයක විචල්‍ය පිරිවැය** යන්න වෙනුවට **මුළු විචල්‍ය පිරිවැය** යන්න තේරුම් ගෙන ඇති බව පෙනී යයි. පිරිවැය හැසිරීම පිළිබඳ අවබෝධය සිසුන්ට ලැබෙන සේ ප්‍රායෝගික නිදසුන් යොදා ගනිමින් ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කර ගැනීම ප්‍රයෝජනවත් වේ.

ප්‍රශ්න අංක 18 සඳහා **නිවැරදි පිළිතුර** වූ **2 වන වරණය** තෝරා ගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 35%කි. අයදුම්කරුවන්ගෙන් 35%ක් 1 වන වරණය ද 18%ක් 3 වන වරණය ද තෝරා ගෙන ඇත. 1 වන වරණය තෝරා ගත් අයදුම්කරුවන් **බදු පෙර ලාභය** වෙනුවට, **වර්ෂය සඳහා ලාභය** යන්න යොදා ගෙන ගණනය කිරීම් කර ඇත. ප්‍රශ්නය කියවා නිවැරදි ව අවබෝධ කරගෙන නොමැති බව පෙනී යයි. **කාලච්ඡේදයේ ලාභය**, **බදුපෙර ලාභය** යන්න පැහැදිලිව වෙන්කර ගත හැකි පරිදි සිසුන් තුළ අවබෝධය ඇති කිරීම ප්‍රයෝජනවත් ය.

ප්‍රශ්න අංක 20 සඳහා **නිවැරදි පිළිතුර** වන **3 වන වරණය** තෝරා ගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 37%කි. 19%ක් 5 වන වරණය ද 18%ක් 1 වන වරණයද 15%ක් 4 වන වරණය ද තෝරා ගෙන ඇත. ප්‍රශ්න අංක 19 සහ 20 සඳහා පොදු තොරතුරු සපයා ඇති අතර **මුළු විස්තීර්ණ ආදායම** හා **රඳවාගත් ඉපැයුම්** වෙනස් වන ආකාරය පිළිබඳ අවබෝධය ප්‍රමාණවත් නොවන බව පෙනී යයි. මෙහිදී LKAS I හි දක්වා ඇති කරුණු පිළිබඳ නිවැරදි අවබෝධයක් ලැබෙන පරිදි ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය විය යුතුය.

ප්‍රශ්න අංක 26 සඳහා **නිවැරදි පිළිතුර** වූ **3 වන වරණය** තෝරා ගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 37%ක් පමණි. අයදුම්කරුවන්ගෙන් 32%ක් වරණ අංක 4 ද 15%ක් වරණ අංක 1 ද තෝරා ගෙන ඇත. ආර්ථික ඇනවුම් ප්‍රමාණය ගණනය කිරීමේදී යොදා ගනු ලබන විචල්‍යන් අතර පවතින සම්බන්ධය පිළිබඳව සිසුන් දැනුවත් කිරීම වැදගත් වේ.

ප්‍රශ්න අංක 30 සඳහා **නිවැරදි පිළිතුර වූ 3 වන වරණය** තෝරා ගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 38%කි. පිළිවෙළින් 20%ක් 17%ක් හා 16%ක් 2 වන, 4 වන හා 5 වන වරණ තෝරා ගෙන ඇත. විෂයය නිර්දේශයට අනුව අවසානයේදී සාකච්ඡා කෙරෙන මාතෘකාවක් වන **ආයෝජන ඇගයීමේ ශිල්ප ක්‍රම** පිළිබඳ ව සිසුන්ගේ අවබෝධය මද බව පෙනී යන අතර එම විෂය කොටස් ආවරණය කිරීම පිළිබඳ ව වැඩි අවධානයක් යොමු කිරීම වැදගත් වනු ඇත.

ප්‍රශ්න අංක 22 සඳහා **නිවැරදි පිළිතුර වූ 1 වන වරණය** තෝරා ගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 38%ක් පමණි. තවත් 36%ක් ම සිය වරණය ලෙස අංක 3 තෝරා ගෙන ඇත. කලින් සඳහන් කළ පරිදි බොහෝ සිසුන් යාන්ත්‍රිකව අනුපාත ගණනය කරන සූත්‍ර කට පාඩම් කර ඒවාට ඉලක්කම් ආදේශ කිරීමට පුරුදු වී ඇති බව නිරීක්ෂණය වේ. ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලියේදී අනුපාතවල ප්‍රායෝගික යෙදීම් හා තීරණ ගැනීමේදී වැදගත් වන ආකාරය පිළිබඳ අවබෝධය ලබාදීම වැදගත් වනු ඇත.

ප්‍රශ්න අංක 21හි **නිවැරදි පිළිතුර වන 5 වන වරණය** තෝරා ගෙන ඇත්තේ අයදුම්කරුවන් 42%කි. තවද අයදුම්කරුවන්ගේ 27%ක් 4 වන වරණය ද 16%ක් 3 වන වරණය ද තෝරා ගෙන ඇත. වාර්ෂික ක්ෂය ගණනය කිරීම සාර්ථක මට්ටමක පැවතුන ද යන්ත්‍රයේ ධාරණ අගය සෙවීමේ දැනුම දුර්වල මට්ටමක පවතින බව පෙනේ. LKAS 16 ට අනුව **වත්කමක ධාරණ අගය** ඇතුළු වෙනත් අගයන් ගණනය පිළිබඳ ව වැඩිපුර උදාහරණ යොදා ගෙන ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කරගත යුතුය.

ප්‍රශ්න අංක 17හි **නිවැරදි පිළිතුර වූ 2 වන වරණය** තෝරා ගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 42% පමණි. අයදුම්කරුවන්ගෙන් 30%ක්ම තෝරා ගෙන ඇත්තේ අංක 05 වරණයයි. මෙය LKAS 37 සම්බන්ධ ප්‍රශ්නයක් වන අතර, ප්‍රමිත යොදා ගැනීම පිළිබඳ අවබෝධය ප්‍රමාණවත් නොවන බව පෙනී යයි. මූල්‍ය වාර්තා සකස් කිරීමේදී හා ඉදිරිපත් කිරීමේදී ගිණුම්කරණ ප්‍රමිත යොදා ගන්නා ආකාරය පිළිබඳ ව උදාහරණ සහිතව පැහැදිලි කිරීම් කිරීම යෝග්‍ය වේ.

ප්‍රශ්න අංක 27 සඳහා **නිවැරදි පිළිතුර වූ 3 වන වරණය** තෝරා ගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 44% කි. අයදුම්කරුවන්ගෙන් 23%ක් 1 වන වරණයද 15%ක් දෙවන වරණය ද තෝරා ඇත. මෙය නිෂ්පාදන පිරිවැය සම්බන්ධ ප්‍රශ්නයක් වන අතර, **පොදු කාර්ය පිරිවැය අන්තර්ග්‍රහණය** පිළිබඳ අවබෝධය ප්‍රමාණවත් නොවන බව පෙනී යයි. ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලියේදී පොදු කාර්ය පිරිවැය අන්තර්ග්‍රහණය පිළිබඳව ප්‍රමාණවත් උදාහරණ ප්‍රමාණයක් යොදා ගෙන සිසුන්ට අවබෝධය ලබාදීම ප්‍රයෝජනවත් වේ.

ප්‍රශ්න අංක 03 සඳහා **නිවැරදි පිළිතුර වූ 3 වන වරණය** තෝරා ගෙන ඇති අයදුම්කරුවන්ගේ ප්‍රතිශතය 46%කි. අයදුම්කරුවන්ගෙන් 24%ක් ද 5 වන වරණය ද 17%ක් දෙවන වරණය ද තෝරා ගෙන ඇත. ගිණුම්කරණ සංකල්පවල ප්‍රායෝගික යොදා ගැනීම් පිළිබඳ ව සිසුන් තුළ ඇති අවබෝධය අඩු බව පෙනී යයි. ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කිරීමේදී ඒ පිළිබඳ ව වැඩි අවධානයක් යොමු කිරීම වැදගත් වේ.

ප්‍රශ්න අංක 11 සඳහා **නිවැරදි පිළිතුර වූ 2 වන වරණය** තෝරා ගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 47%කි. අයදුම්කරුවන්ගෙන් 25%ක් 5 වන වරණය ද 10%ක් හා 11 %ක් පිළිවෙළින් 1 හා 3 වරණයන් ද තෝරා ගෙන ඇත. 5 වන වරණය පිළිතුර ලෙස ලැබී ඇත්තේ VAT ඇතුළුව ගෙවූ මිල යන්ත්‍රයේ පිරිවැය ගණනයේ දී ඇතුළත් කිරීම හේතුවෙනි. ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලියේදී VAT සඳහා ලියාපදිංචි ව්‍යාපාරයක ජංගම නොවන වත්කම් මිලදී ගැනීමේදීත් VAT නැවත අය කරගත හැකි බව සිසුන් දැනුවත් කිරීම වැදගත් වේ.

අයදුම්කරුවන් පිළිතුරු සැපයීමේදී ඉහත දැක්වූ ආකාරයේ යම් යම් දුර්වලතා දැක් වුවද තවත් සමහර ප්‍රශ්න සඳහා ඉතා හොඳින් මුහුණ දුන් බවක් නිරීක්ෂණය විය. එම ප්‍රශ්න අතර පහත දැ ප්‍රමුඛ වේ.

ප්‍රශ්න අංක 02 සඳහා අයදුම්කරුවන් වැඩි ප්‍රමාණයක් සාර්ථකව පිළිතුරු සපයා ඇත. නිවැරදි පිළිතුර වන අංක 2 තෝරා ගෙන ඇති අයදුම්කරුවන්ගේ ප්‍රතිශතය 91%කි. එය ගිණුම්කරණ ක්‍රියාවලිය තුළ සිදුවන කාර්යයන්හි අනුපිළිවෙළ පිළිබඳ දැනුම සහ භාවිතය පිරික්සන ප්‍රශ්නයකි. ප්‍රශ්න අංක 01 සඳහා නිවැරදි පිළිතුර සපයා තිබූ අයදුම්කරුවන්ගේ ප්‍රතිශතය 85%කි. එය මූල්‍ය ගිණුම්කරණයේ මූලික කාර්ය භාරය පිළිබඳ දැනුම පරීක්ෂා කරන ප්‍රශ්නයක් වන අතර නිවැරදි පිළිතුර සපයා තිබූ ප්‍රතිශතය ප්‍රමාණවත් නොවන බව කිව හැකිය. ගිණුම්කරණ සමීකරණය පිළිබඳ දැනුම පරීක්ෂා කරන ප්‍රශ්න අංක 06 සඳහා ද නිවැරදි පිළිතුර සපයා තිබූ අයදුම්කරුවන්ගේ සංඛ්‍යාව 84%කි.

2.1.7 I ප්‍රශ්න පත්‍රයේ අංක 31 සිට 50 තෙක් ප්‍රශ්න සඳහා ලකුණු ලබාගෙන ඇති ආකාරය

| ප්‍රශ්න අංකය | ලකුණු ලබාගත් ප්‍රතිශතය | | | | | |
|---|---|---|---|---|---|---|
| | ලකුණු 0 | ලකුණු 1 | ලකුණු 2 | ලකුණු 3 | ලකුණු 4 | කිසිදු පිළිතුරක් සපයා නොමැත |
| 31 | 1% | 3% | 18% | 37% | 41% | |
| 32 | 6% | 35% | 15% | 21% | 21% | 2% |
| 33 | 4% | 6% | 12% | 21% | 56% | 1% |
| 34 | 13% | 13% | 26% | 23% | 22% | 3% |
| 35 | 21% | 1% | 41% | - | 33% | 4% |
| 36 | 14% | 7% | 14% | 15% | 45% | 5% |
| 37 | 6% | 10% | 18% | 28% | 34% | 4% |
| 38 | 14% | 11% | 28% | 1% | 41% | 5% |
| 39 | 35% | - | 10% | - | 49% | 6% |
| 40 | 15% | - | 10% | - | 70% | 5% |
| 41 | 27% | 4% | 21% | 3% | 36% | 9% |
| 42 | 38% | - | 23% | - | 25% | 14% |
| 43 | 3% | 8% | 14% | 28% | 45% | 2% |
| 44 | 8% | 14% | 29% | 27% | 21% | 1% |
| 45 | 47% | 1% | 31% | - | 8% | 13% |
| 46 | 58% | - | 18% | - | 9% | 15% |
| 47 | 57% | - | 18% | - | 13% | 12% |
| 48 | 12% | - | 15% | - | 67% | 6% |
| 49 | 44% | - | 6% | - | 37% | 13% |
| 50 | 51% | - | 17% | - | 19% | 13% |

වගුව 02

ඉහත වගු අංක 02 මගින් පෙන්නුම් කෙරෙන්නේ ප්‍රශ්න අංක 31 සිට 50 තෙක් ප්‍රශ්න සඳහා ලකුණු ලබාගෙන ඇති ආකාරයයි. ඒ අනුව ප්‍රශ්න අංක 46, 47 සහ 50 සඳහා ලකුණු 0 (බින්දුව) ලබාගත් ප්‍රතිශතය 50% ඉක්මවා ඇත.

ඒ අනුව ගිණුම්කරණ සිද්ධාන්ත පිළිබඳ දැනුම ප්‍රායෝගිකව යොදා ගැනීමේ හැකියාව දුර්වල මට්ටමක පවතින අතර එමෙන්ම එම ප්‍රශ්න කියවා නිවැරදි ව තේරුම් ගෙන නොමැති බව පෙන්නුම් කරයි.

ප්‍රශ්න අංක 46 සඳහා අයදුම්කරුවන්ගෙන් 58%ක් ම ලකුණු 0 (බින්දුව) ලබාගෙන ඇති අතර උපරිම ලකුණ වන ලකුණු 04ම ලබාගෙන ඇත්තේ 9%ක් පමණි. අයදුම්කරුවන්ගෙන් 15%ක් කිසිදු පිළිතුරක් සපයා නොතිබුණි. ප්‍රශ්නය නිසි පරිදි කියවා අවබෝධ කර නොගැනීමෙන් **රඳවාගත් ඉපැයුම්** නිසි පරිදි ගණනය කර ගැනීමට නොහැකි වීම මෙයට හේතුව විය හැකිය. එමෙන්ම යම් නිශ්චිත දිනකට හිමිකම නිවැරදි ව ගණනය කර ගැනීමේ දුර්වලතාවයක් සිසුන් තුළ පවතින බව පෙනී යන බැවින් ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානයේදී ඒ පිළිබඳ ව වැඩි අවධානයක් යොමු කිරීම වැදගත් බව පෙනී යයි.

ප්‍රශ්න අංක 47 සඳහා අයදුම්කරුවන්ගෙන් 57%ක් ම ලකුණු 0 (බින්දුව) ලබාගෙන ඇති අතර, 12%ක් කිසිදු පිළිතුරක් සපයා නොමැත. උපරිම ලකුණු ප්‍රමාණය වන ලකුණු 04ම ලබාගෙන ඇත්තේ 13%ක් පමණි. මෙය **ආර්ථික ඇනවුම් ප්‍රමාණය** සම්බන්ධ ප්‍රශ්නයක් වන අතර දී ඇති තොරතුරු ඇසුරෙන් මුළු ඇනවුම් ගණන සොයා ගැනීමට අපොහොසත් වීම මේ තත්ත්වයට හේතු වූ බව කිව හැකිය. සූත්‍රය ඇසුරෙන් අගයන් ආදේශ කර ආර්ථික ඇනවුම් ප්‍රමාණය ගණනය කිරීමට පමණක් ශිෂ්‍යයා පුරුදු පුහුණු වී ඇති බව පෙනී යන අතර එම සූත්‍රයේ විචල්‍යයන් පිළිබඳ ව ප්‍රායෝගික අවබෝධය අඩු බව ද පෙනී යයි. ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලියේදී මේ පිළිබඳ ව වැඩි අවධානය යොමු කිරීම වැදගත් වේ.

ප්‍රශ්න අංක 50 සඳහා මුළු ලකුණු ප්‍රමාණය වූ ලකුණු 04 ම ලබාගත් අයදුම්කරුවන්ගේ ප්‍රතිශතය 19%ක් පමණි. ලකුණු 0 (බින්දුව) ලබාගත් ප්‍රතිශතය 51%ක් වූ අතර කිසිදු පිළිතුරක් සපයා නොමැති ප්‍රතිශතය 13%කි. ගිණුම්කරණය විෂයය නිර්දේශයේ අවසාන නිපුණතාවයක් වන **ප්‍රාග්ධන ආයෝජන තීරණ** පිළිබඳ ව අවබෝධය ප්‍රමාණවත් නොවීම මෙයට හේතුව විය හැකිය. ප්‍රමාණවත් අභ්‍යාස ප්‍රමාණයක් යොදා ගෙන මේ පිළිබඳ ව අවබෝධය ලබාදීම වැදගත් වේ.

ප්‍රශ්න අංක 45 සඳහා ලකුණු 0 (බින්දුව) ලබාගත් අයදුම්කරුවන්ගේ ප්‍රතිශතය 47%කි. 13%ක් කිසිදු පිළිතුරක් සපයා නොමැත. සම්පූර්ණ ලකුණු ප්‍රමාණය වන ලකුණු 04ම ලබාගෙන ඇත්තේ 8%ක් පමණි. මෙම ප්‍රශ්නය ගිණුම්කරණ අනුපාත පිළිබඳ දැනුම පරීක්ෂා කිරීම සඳහා ඇතුළත් ප්‍රශ්නයකි. නිසිපරිදි කියවා අවබෝධ කර නොගැනීමෙන් **බදු පෙර ලාභය** නිවැරදි ව ගණනය කර ගැනීමට අපොහොසත් වී ඇති බව පෙන්නුම් කරයි. ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලියේදී අනුපාත විශ්ලේෂණය පිළිබඳ ව අවබෝධය ලබාදීම වැදගත් වනු ඇත.

ප්‍රශ්න අංක 49 සඳහා ලකුණු 0 (බින්දුව) ලබාගත් අයදුම්කරුවන්ගේ ප්‍රතිශතය 44%කි. 13%ක් කිසිදු පිළිතුරක් සපයා නැත. මුළු ලකුණු ප්‍රමාණය වන ලකුණු 04 ලබාගත් ප්‍රතිශතය 37%කි. **පිරිවැය ලාභ පරිමා විශ්ලේෂණය** ඇතුළත් සූත්‍ර සහ ඒවායේ භාවිතය පිළිබඳ අවබෝධය අඩුවීම මෙයට හේතු වූ බව කිව හැකිය. ප්‍රමාණවත් ප්‍රායෝගික අභ්‍යාස යොදා ගනිමින් ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කර ගැනීම යෝග්‍ය වේ.

ප්‍රශ්න අංක 42 සඳහා සම්පූර්ණ ලකුණු ප්‍රමාණය වූ ලකුණු 04 ම ලබාගෙන ඇති අයදුම්කරුවන්ගේ ප්‍රතිශතය 25%කි. අයදුම්කරුවන්ගෙන් 38%ක් ම ලකුණු 0 (බින්දුව) ලබාගෙන ඇත. කිසිදු පිළිතුරක් සපයා නොමැති ප්‍රතිශතය 14%කි. **කොටස් නිකුත් කිරීම ගිණුම්ගත කිරීම** සම්බන්ධ ජ'නල් සටහන් පිළිබඳ අවබෝධය හා **හිමිකම වෙනස් වීමට බලපාන කරුණු** පිළිබඳ අවබෝධය ලබාදීමට ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේදී වැඩි අවධානයක් යොමු කිරීම වැදගත් වේ.

ප්‍රශ්න අංක 39 සඳහා ලකුණු 0 (බින්දුව) ලබාගත් අයදුම්කරුවන්ගේ ප්‍රතිශතය 35%කි. 6%ක් කිසිදු පිළිතුරක් සපයා නොමැත. සම්පූර්ණ ලකුණු ප්‍රමාණය වූ ලකුණු 04 ම ලබාගත් ප්‍රතිශතය 49%කි. මෙය නිෂ්පාදන පිරිවැය ගණනය කිරීම සම්බන්ධව ඉතා සරල ගැටළුවක් ඇතුළත් ප්‍රශ්නයකි. නිෂ්පාදන පිරිවැය ගණනය කිරීම පිළිබඳ නිපුණතාවය ලබාදීම වැදගත් වේ.

ප්‍රශ්න අංක 41 සඳහා සම්පූර්ණ ලකුණු ප්‍රමාණය වන ලකුණු 04 ම ලබාගත් අයදුම්කරුවන්ගේ ප්‍රතිශතය 36%කි. ලකුණු 0 (බින්දුව) ලබාගත් ප්‍රතිශතය 27%ක් හා කිසිදු පිළිතුරක් සපයා නොමැති ප්‍රතිශතය 9%කි. **හවුල් ව්‍යාපාරයක ලාභ විසර්ජනය හා ජංගම ගිණුම තුළ ලාභ විසර්ජනය සටහන් කිරීම** පිළිබඳ අවබෝධය ප්‍රමාණවත් නොවන බව පෙනී යයි. ඒ අනුව හවුල්කරුවන් වශයෙන් ලබන වේතන, ප්‍රාග්ධන පොලී සහ අවසාන ලාභ කොටස් යන සියල්ලම ලාභ විසර්ජනයන් බව අවබෝධ වන පරිදි ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය විය යුතුය.

ප්‍රශ්න අංක 40 සඳහා මුළු ලකුණු ප්‍රමාණය වන ලකුණු 4 ම ලබාගෙන තිබූ අයදුම්කරුවන්ගේ ප්‍රතිශතය 70%ක් විය. හවුල් ව්‍යාපාරයක හිමිකම ලෙස මූල්‍ය තත්ත්ව ප්‍රකාශනයේ දැක්වෙන අයිතම දෙකක් සම්බන්ධව එමගින් පිරික්සා ඇත. 31 සිට 50 දක්වා ප්‍රශ්න අතුරින් සාපේක්ෂව වැඩි ලකුණු ප්‍රමාණයක් එම ප්‍රශ්නය සඳහා ලබාගෙන තිබුණ ද එම ප්‍රතිශතය ප්‍රමාණවත් නොවන බව පෙනී යයි. හවුල් ව්‍යාපාරයක හිමිකම සමන්විත වන ආකාරය වඩාත් හොඳින් පැහැදිලි වන ආකාරයට ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය වීම යෝග්‍ය වේ.

ප්‍රශ්න අංක 48 සඳහා අයදුම්කරුවන්ගෙන් 67%ක් ම මුළු ලකුණු ප්‍රමාණය ලබාගෙන තිබුණි. ප්‍රායෝගික උදාහරණ යොදා ගෙන ඍජු ශ්‍රමය හා වක්‍ර ශ්‍රම පිරිවැය පිළිබඳ ව ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය වන්නේ නම් මෙම ප්‍රතිශතය තව දුරටත් ඉහළ නැංවිය හැකි බව කිව හැකිය.

## 2.2 II ප්‍රශ්න පත්‍රය හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

### 2.2.1 II ප්‍රශ්න පත්‍රයේ ව්‍යුහය

කාලය පැය 03 යි

මෙම ප්‍රශ්න පත්‍රය ප්‍රශ්න 7කින් යුක්තය. පළමුවන හා දෙවන ප්‍රශ්න අනිවාර්ය වන අතර ඒ සඳහා එක් ප්‍රශ්නයකට ලකුණු 20 බැගින් ලකුණු 40කි. සෙසු ප්‍රශ්න 5 න් 4 ක් තෝරා ගත යුතු අතර එක් ප්‍රශ්නයකට ලකුණු 15 බැගින් ලකුණු 60කි. මුළු ලකුණු 100 කි.

අවසාන ලකුණු ගණනය කිරීම :

I පත්‍රය 100
II පත්‍රය 100
අවසාන ලකුණු 200 ÷ 2 = 100

* පිළිතුරු පත් ඇගයීමේ දී සෑම ප්‍රශ්නයකම ලකුණු දෙගුණ කර ලබා දෙනු ඇත.
ඒ අනුව අවසාන ලකුණු ගණනය කිරීම :

I පත්‍රය 200
II පත්‍රය 200
අවසාන ලකුණු 400 ÷ 4 = 100

2.2.2. II ප්‍රශ්න පත්‍රය සඳහා අපේක්ෂිත පිළිතුරු, ලකුණු දීමේ පටිපාටිය, පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ, නිගමන හා යෝජනා

II පත්‍රයෙහි එක් එක් ප්‍රශ්නය සඳහා පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ, ප්‍රස්තාර 2, 3 සහ 4, ඇසුරෙන් ඉදිරිපත් කර ඇත. ප්‍රශ්නයට අදාළ ප්‍රස්තාර කොටස ඒ ඒ ප්‍රශ්නයේ නිරීක්ෂණ හා නිගමන සමග දක්වා ඇත.

II පත්‍රය

01 ප්‍රශ්නය

1. 2015.03.31 දිනට සීමිත සාරංග පොදු සමාගමේ ශේෂ පිරික්සුම පහත දී ඇත.

| | හර (රු. '000) | බැර (රු. '000) |
|---|---|---|
| ගැනුම් | 7 500 | |
| කුලී | 960 | |
| වැටුප් | 1 000 | |
| මෝටර් රථ නඩත්තු වියදම් | 321 | |
| කල්බදු පොලී | 720 | |
| ප්‍රවර්තන වර්ෂයේ පළමු කාර්තු තුන සඳහා ගෙවූ ආදායම් බදු | 90 | |
| 2014.04.01 දිනට දේපළ, පිරියත සහ උපකරණ | 10 000 | |
| 2014.04.01 දිනට තොගය | 2 400 | |
| වෙළෙඳ ලැබිය යුතු දෑ | 3 000 | |
| බැංකුවේ ඇති මුදල් | 241 | |
| ත්‍රෛමාසික භාණ්ඩාගාර බිල්පත් (2015.03.31 දින ආයෝජනය කරන ලද) | 1 000 | |
| විකුණුම් | | 12 300 |
| 2014.04.01 දිනට ප්‍රකාශිත සාමාන්‍ය කොටස් ප්‍රාග්ධනය | | 5 000 |
| 2014.04.01 දිනට රඳවාගත් ඉපැයුම් | | 1 794 |
| 2014.04.01 දිනට ඉඩමේ ප්‍රත්‍යාගණන සංචිතය | | 1 000 |
| කල්බදු ණයහිමියන් | | 1 788 |
| වෙළෙඳ ගෙවිය යුතු දෑ | | 4 000 |
| ගෙවිය යුතු සේවක අර්ථසාධක අරමුදල් (EPF) (10% සේවක දායකත්වය පමණි) | | 100 |
| 2014.04.01 දිනට සමුච්චිත ක්ෂය | | 1 000 |
| 2014.04.01 දිනට අඩමාණ ණය සඳහා වෙන්කිරීම | | 250 |
| | 27 232 | 27 232 |

**අතිරේක තොරතුරු:**

2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා මූල්‍ය ප්‍රකාශන පිළියෙල කිරීමට පෙර පහත දෑ සඳහා ගැළපීම් කළ යුතු වේ.

(i) 2014.04.01 දින සමාගමේ කාර්යාලය නව ස්ථානයකට ගෙන යන ලදී. මෙදින වසර දෙකක කුලී ගෙවන ලද අතර මුළු මුදලම ප්‍රවර්තන වර්ෂයේ කුලී ලෙස සටහන් කර ඇත.

(ii) 2014.04.01 දිනට දේපළ, පිරියත සහ උපකරණ සහ ඒවායේ සමුච්චිත ක්ෂයවල සංයුතිය පහත පරිදි වේ:

| විස්තරය | පිරිවැය/වටිනාකම (රු.'000) | සමුච්චිත ක්ෂය (රු.'000) |
|---|---|---|
| ඉඩම-සාධාරණ අගයට | 6 000 | – |
| මෝටර් රථය (කල්බදු පදනමට) | 3 000 | 600 |
| කාර්යාල උපකරණ | 1 000 | 400 |
| **එකතුව** | 10 000 | 1 000 |

සියලුම ක්ෂය කළ හැකි දේපළ, පිරියත සහ උපකරණ සරල මාර්ග ක්‍රමයට වාර්ෂිකව 20% බැගින් ක්ෂය කරනු ලබයි. ප්‍රවර්තන වර්ෂය සඳහා ක්ෂය වෙන් කළ යුතු වේ.

(iii) 2015.03.31 දින වෘත්තිය තක්සේරුකරුවකු විසින් ඉඩම රු. 4 500 000 කට ප්‍රත්‍යාගණනය කරන ලදී.

(iv) මෝටර් රථය 2013.04.01 දින මූල්‍ය කල්බද්දක් යටතේ වසර 4 ක කාලයකට භාණ්ඩ බෙදා හැරීම සඳහා අත්පත් කරගෙන ඇත. ගෙවිය යුතු වාර්ෂික කල්බදු වාරිකය රු. 720 000 කි. ප්‍රවර්තන වර්ෂයේ කල්බදු වාරිකය ගෙවා ඇති අතර එය කල්බදු පොලී ගිණුමට හර කර ඇත. ප්‍රවර්තන වර්ෂය සහ ඊළඟ වසර දෙක සඳහා අදාළ කල්බදු පොලී පහත පරිදි වේ.

| වසර | පොලිය (රු.'000) |
|---|---|
| 2014 / 2015 | 179 |
| 2015 / 2016 | 125 |
| 2016 / 2017 | 68 |

(v) 2015.03.31 දිනට තොගයේ පිරිවැය සහ ශුද්ධ උපලබ්ධි අගය පිළිවෙළින් රු. 1 800 000 ක් සහ රු. 2 000 000 ක් විය. කෙසේ වුව ද 2015.04.20 දින සම්පූර්ණ තොගය රු. 1 600 000 කට විකුණන ලදී. 2015.05.15 දින අධ්‍යක්ෂකවරුන් විසින් සමාගමේ මූල්‍ය ප්‍රකාශන අනුමත කරන ලදී.

(vi) වසර අග වෙළෙඳ ලැබිය යුතු දෑ ශේෂය මත 10% ක් අඩමාණ ණය සඳහා වෙන් කරනු ලැබේ.

(vii) පහත වියදම් විකුණුම් ගිණුමට හර කර ඇත.

| අයිතමය | වටිනාකම (රු.'000) |
|---|---|
| නියෝජිතයන් සඳහා විකුණුම් කොමිස් | 1 400 |
| වෙළෙඳ ලැබිය යුතු දෑ සඳහා දුන් වට්ටම් | 300 |
| **එකතුව** | **1 700** |

(viii) රඳවාගත් ඉපැයුම් ප්‍රාග්ධනිත කරමින් කොටසක් රු. 10 බැගින් සාමාන්‍ය කොටස් 50 000 ක් දැනට සිටින කොටස්කරුවන්ට නිකුත් කර ඇත.

(ix) සමාගම විසින් මාස හයක වගකීම් සහතිකයක් සහිත ව භාණ්ඩ විකුණනු ලබයි. මෙම වගකීම් සහතිකය සඳහා විකුණුම් වටිනාකම මත 2% ක ප්‍රතිපාදනයක් කළ යුතු යැ'යි විශ්වසනීය ලෙස ඇස්තමේන්තු කර ඇත.

(x) සේවක අර්ථසාධක අරමුදල (EPF) සහ සේවක භාරකාර අරමුදල (ETF) සඳහා සමාගමේ දායකයන් මුළු වර්ෂය සඳහාම මෙතෙක් වෙන් කර නොමැත. EPF සහ ETF සඳහා සේවකයින්ගේ දළ වැටුප මත පිළිවෙළින් 15% ක් සහ 3% ක් බැගින් සමාගම දායක වේ.

(xi) ප්‍රවර්තන වර්ෂයේ ආදායම් බද්ද, බදු පෙර ලාභයෙන් 1/3 ක් ලෙස ඇස්තමේන්තු කර ඇත.

**අවශ්‍යවන්නේ:**

LKAS 1 (මූල්‍ය ප්‍රකාශන ඉදිරිපත් කිරීම) ප්‍රමිතයට අනුව ප්‍රසිද්ධ කිරීම සඳහා සීමිත සාරංග පොදු සමාගමේ පහත මූල්‍ය ප්‍රකාශන (සටහන් ද ඇතුළුව):

(1) 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා විස්තීරණ ආදායම් ප්‍රකාශනය

(2) 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා හිමිකම් වෙනස්වීමේ ප්‍රකාශනය

(3) 2015.03.31 දිනට මූල්‍ය තත්ත්ව ප්‍රකාශනය

## පිළිතුර

**ප්‍රශ්න අංක 01**

(1) සීමිත සාරංග පොදු සමාගම

2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා විස්තීරණ ආදායම් ප්‍රකාශනය (01)

(ලාභ හෝ අලාභ සහ වෙනත් විස්තීර්ණ ආදායම් ප්‍රකාශනය)

| | සටහන් | (රු'000) | |
|---|---|---|---|
| විකුණුම් | | 14 000 | (01) |
| විකුණුම් පිරිවැය | | (8 100) | (01) |
| දළ ලාභය | (01) | 5 900 | |
| බෙදා හැරීමේ පිරිවැය | | (2 951) | (04) |
| පරිපාලන වියදම් | | (1 860) | (04) |
| වෙනත් වියදම් | | (700) | (02) |
| මූල්‍ය පිරිවැය | | (179) | (01) |
| බදු පෙර ලාභය | | 210 | |
| ආදායම් බදු | 01 (01) | (70) | → ලද බදු පෙර ලාභයෙන් 1/3ක් සඳහා |
| කාලච්ඡේදයේ ලාභය | (01) | 140 | |
| **වෙනත් විස්තීරණ ආදායම්** | | | |
| ප්‍රත්‍යාගණන අතිරික්තයේ වෙනස්වීම | | (1 000) | (01) |
| මුළු විස්තීරණ ආදායම | (01) | (860) | |

සටහන 01 :- බදු පෙර ලාභය ගණනය කර ඇත්තේ පහත වියදම් ද අඩු කිරීමෙන් පසුවය

| | | රු' 000 | |
|---|---|---|---|
| ක්ෂය | } 02 | 800 | |
| කල්බදු පොලී | | 179 | |
| තොග කපාහැරීම | | 200 | |
| වගකීම් සහතික සඳහා ප්‍රතිපාදන | | 280 | ලද අගයන් සමග |
| සේවක අර්ථසාධක අරමුදල් වියදම | | 150 | |
| සේවක භාරකාර අරමුදල් වියදම | | 30 | |
| ප්‍රත්‍යාගණන ඌණතාවය | | 500 | |

**(අයිතම දෙකකට එක බැගින් අයිතම 4 කට ලකුණු 2 යි)**
**(ලකුණු 21)**

**පෙර වැඩ රු' 000**

| **විකුණුම්** | | | **විකුණුම් පිරිවැය** | | |
|---|---|---|---|---|---|
| ශේෂ පිරික්සුමේ පරිදි | 12 300 | | 2014.04.01 තොගය | 2 400 | |
| විකුණුම් කොමිස් | 1 400 | } 01 | ගැනුම් | 7 500 | |
| දුන් වට්ටම් | 300 | | 2015.03.31 තොගය | (1 800) | 01 |
| | 14 000 | | | 8 100 | |
| **බෙදාහැරීමේ පිරිවැය** | | | **පරිපාලන වියදම්** | | |
| මෝටර් රථ ක්ෂය | 600 | 01 | කුලී | 480 | 01 |
| විකුණුම් කොමිස් | 1 400 | } 01 | කාර්යාල උපකරණ ක්ෂය | 200 | 01 |
| දුන් වට්ටම් | 300 | | සේවක අ.අ.වි.(EPF) | 150 | 01 |
| වගකීම් සහතික සඳහා ප්‍රතිපාදන | 280 | 01 | සේවක භා.අ.වි.(ETF) | 30 | 01 |
| මෝටර් රථ නඩත්තු වියදම් | 321 | | වැටුප් | 1 000 | |
| අඩමාන ණය වෙන්කිරීම | 50 | 01 | | 1 860 | |
| | 2 951 | | | | |
| **වෙනත් වියදම්** | | | **මූල්‍ය පිරිවැය** | | |
| ප්‍රත්‍යාගණන ඌණතාවය | 500 | 01 | කල්බදු පොලී | 179 | 01 |
| තොග කපා හැරීම | 200 | 01 | | | |
| | 700 | | | | |

(2) සීමිත සාරංග පොදු සමාගම

2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා හිමිකම් වෙනස් වීමේ ප්‍රකාශනය රු' 000

| | ප්‍රකාශිත ප්‍රාග්ධනය - සාමාන්‍ය කොටස් | ප්‍රත්‍යාගණන සංචිතය | රඳවාගත් ඉපැයුම් | එකතුව |
|---|---|---|---|---|
| 2014.04.01 ශේෂය | 5 000 | 1 000 | 1 794 | 7 794 |
| සංචිත ප්‍රාග්ධනිත කිරීම | 500 | (01) | (500) | - |
| * මුළු විස්තීරණ ආදායම | (01) | (1 000) | 140 (01) | (860) |
| 2015.03.31 ශේෂය | 5 500 | - | 1 434 | 6 934 |

* අයිතම දෙක වෙන වෙනම දක්වා ඇත්නම් ලකුණු 01කි.

**(ලකුණු 03)**

**(3)** **සීමිත සාරංග පොදු සමාගම**

**2015.03.31 දිනට මූල්‍ය තත්ත්ව ප්‍රකාශනය** (01)

| | සටහන් | (රු'000) | |
|---|---|---|---|
| **ජංගම නොවන වත්කම්** | | | |
| දේපළ, පිරියත හා උපකරණ | 02 (01) | 6 700 | |
| **ජංගම වත්කම්** | | | |
| තොගය | | 1 600 | (01) |
| වෙළඳ ලැබිය යුතු දෑ | | 2 700 | (01) |
| ඉදිරියට ගෙවූ කුලී | | 480 | (01) |
| ඉදිරියට ගෙවූ ආදායම් බදු | ලද අගයට (01) | 20 | |
| මුදල් හා මුදල් සමාන දෑ | | 1 241 | (01) |
| මුළු වත්කම් | | 12 741 | |
| **හිමිකම්** | | | |
| **ප්‍රකාශිත ප්‍රාග්ධනය** | | | |
| සාමාන්‍ය කොටස් | | 5 500 | (01) |
| **සංචිත** | | | |
| රඳවාගත් ඉපැයුම් | (01) | 1 434 | |
| **ජංගම නොවන වගකීම්** | | | |
| කල්බදු ණයහිමියෝ | | 652 | (01) |
| **ජංගම වගකීම්** | | | |
| වෙළෙඳ ගෙවිය යුතු දෑ | | 4 000 | |
| කල්බදු ණයහිමියෝ | | 595 | (01) |
| වගකීම් සහතික සඳහා ප්‍රතිපාදන | | 246/280 | (01) |
| ගෙවිය යුතු සේවක අර්ථ සාධක අරමුදල් (EPF) | | 250 | (01) |
| ගෙවිය යුතු සේවක භාරකාර අරමුදල් (ETF) | | 30 | |
| මුළු වගකීම් සහ හිමිකම | | 12 741 | |

සටහන 02 - දේපළ පිරියත හා උපකරණ (රු' 000)

| | ඉඩම | මෝටර් රථය | කාර්යාල උපකරණ | එකතුව |
|---|---|---|---|---|
| **පිරිවැය** | | | | |
| 2014.04.01 ශේෂය | 6 000 | 3 000 | 1 000 | 10 000 |
| ප්‍රත්‍යාගණනය | (1 500) (01) | | | (1 500) |
| 2015.03.31 ශේෂය | 4 500 | 3 000 | 1 000 | 8 500 |
| **සමුච්චිත ක්ෂය** | | | | |
| 2014.04.01 ශේෂය | - | 600 | 400 | 1 000 |
| කාලච්ඡේදයේ ක්ෂය | - | 600 | 200 (01) | 800 |
| 2015.03.31 ශේෂය | - | 1 200 | 600 | 1 800 |
| 2015.03.31 දිනට ධාරණ වටිනාකම | 4 500 | 1 800 | 400 (01) | 6 700 |

**(ලකුණු 16)**
**(මුළු ලකුණු 40)**

1 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 20 x 2 = ලකුණු 40කි.
1 ප්‍රශ්නය අනිවාර්ය ප්‍රශ්නයකි. ඉතා සුළු පිරිසක් හැර අනෙකුත් අයදුම්කරුවන් මෙම ප්‍රශ්නයට පිළිතුරු සපයා ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 40ක් හිමිවේ.
ඉන් ලකුණු 00 - 10 ප්‍රාන්තරයේ 31%ක් ද,
ලකුණු 11 - 20 ප්‍රාන්තරයේ 24%ක් ද,
ලකුණු 21 - 30 ප්‍රාන්තරයේ 27%ක් ද,
ලකුණු 31 - 40 ප්‍රාන්තරයේ 18%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 31ක් හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 18%ක් වන අතර, අයදුම්කරුවන්ගෙන් 31%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 10 හෝ ඊට වඩා අඩුවෙනි.




මෙම ප්‍රශ්නයේ අනුකොටස් 3ක් ඇති අතර අනු කොටස් තුනේම පහසුතාව 40%ට වඩා වැඩිය. පහසුතාව අඩුම අනු කොටස (1) වී ඇති අතර, එහි පහසුතාව 42%කි. වැඩිම පහසුතාව සහිත අනුකොටස (2) වී ඇති අතර, එහි පහසුතාවය 45%කි.

(1) කොටසේ පහසුතාව 42%ක් වන අතර ඊට හේතු ලෙස වාර්තාකරණ කාලච්ඡේදයට පසු සිදුවීමක් ලෙස තොගය නිවැරදි ව ගණනය කර නොතිබීම, විකුණුම් වටිනාකම නිවැරදි ව ගණනය නොකිරීම නිසා වගකීම් සහතික සඳහා ප්‍රතිපාදනය නිවැරදි ව ගණනය කර නොතිබීම ගිණුම්කරණ ප්‍රමිති අංක 16ට අනුව ප්‍රත්‍යාගණනය පිළිබඳ අවබෝධය පහළ මට්ටමක පැවතීම යනාදිය එම කොටසට ලකුණු අඩුවීමට හේතු ලෙස පෙන්වා දිය හැකිය. ඒවා අවධාරණය වන ලෙස ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය විය යුතුය.

(2) වන කොටසේ හිමිකම වෙනස්වීම් ප්‍රකාශය තුළ මුළු විස්තීරණ ආදායම වෙන්කර දැක්වීම පිළිබඳ හඳුනා ගෙන නොතිබීමේ දුර්වලතාවක් ඇති බව පෙනේ. ඒ පිළිබඳ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය තුළින් අවබෝධය ලබාදිය යුතුවේ.

(3) වන කොටසේ මූල්‍ය තත්ත්ව ප්‍රකාශනයේ ඉදිරියට ගෙවූ ආදායම් බද්ද හඳුනාගෙන නොතිබීම, වගකීම් සහතික සඳහා ප්‍රතිපාදනය නිවැරදි ව හඳුනාගෙන නොතිබීම, මූල්‍ය කල්බදු යටතේ ගැනුම්කරුගේ පොත්වල ගිණුම් තැබීම හා ජංගම හා ජංගම නොවන වගකීම් ලෙස කල්බදු ණයහිමියෝ හඳුනා ගෙන නොතිබීම ආදී දුර්වලතා පවතින බව පෙනේ. ඒ පිළිබඳ වැඩි අවබෝධයක් ලැබෙන පරිදි ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කරගත යුතුවේ.

ප්‍රසිද්ධ කිරීම සඳහා පිළියෙල කරන මූල්‍ය ප්‍රකාශනවල ආකෘතිය පිළිබඳ අවබෝධය අඩුබව තවදුරටත් පවතින දුර්වලතාවක් බව පෙනී යන අතර අදාළ ගිණුම්කරණ ප්‍රමිතය වෙනස් වන අවස්ථාවලදී මූල්‍ය ප්‍රකාශන ඉදිරිපත් කිරීමේ ආකෘතියෙහි සිදුවන වෙනස්කම් පිළිබඳ ව සිසුන්ගේ දැනුම යාවත්කාලීන කිරීම වැදගත් වේ.

02 ප්‍රශ්නය

2. (අ) අංජු සහ සංජු 2014.04.01 දින හවුල් ව්‍යාපාරයක් ආරම්භ කරන ලදී. හවුල් ව්‍යාපාර ගිවිසුමේ කොන්දේසි පහත පරිදි වේ:

- අංජු සහ සංජු අතර ලාභාලාභ 2:1 අනුපාතයට බෙදා ගැනේ.
- සෑම හවුල්කරුවෙකුට ම රු. 40 000 ක මාසික වේතනයක් හිමි වේ.
- හවුල්කරුවන්ට ප්‍රාග්ධනය මත වාර්ෂික ව 10% ක පොලියක් හිමි වේ.
- හවුල්කරුවන් විසින් ලබාදෙන ණය සඳහා වාර්ෂික ව 6% ක පොලියක් හිමි වේ.
- හවුල්කරුවන්ට අදාළ සියලු ගනුදෙනු ඔවුන්ගේ ජංගම ගිණුම් මගින් වාර්තා කළ යුතු වේ.

2015.03.31 දිනට හවුල් ව්‍යාපාරයේ ශේෂ පිරික්සුම පහත පරිදි විය:

| | හර (රු.'000) | බැර (රු.'000) |
|---|---|---|
| දේපළ, පිරියත සහ උපකරණ-ධාරණ වටිනාකමට | 4 800 | |
| දේපළ, පිරියත සහ උපකරණ මත ක්ෂය | 600 | |
| වෙළෙඳ ලැබිය යුතු දෑ | 900 | |
| බැංකුවේ ඇති මුදල් | 130 | |
| ප්‍රාග්ධන ගිණුම් - අංජු | | 1 800 |
| - සංජු | | 1 300 |
| 2014.08.01 දින අංජු ලබා දුන් ණය | | 1 000 |
| වෙළෙඳ ගෙවිය යුතු දෑ | | 340 |
| විකුණුම් | | 6 100 |
| ගැනුම් | 2 500 | |
| මෙහෙයුම් වියදම් | 820 | |
| අංජුට ගෙවූ වැටුප් | 200 | |
| අංජුගේ ණය මත ගෙවූ පොලී | 30 | |
| සංජුට ගෙවූ ප්‍රාග්ධන පොලී | 100 | |
| අංජුට ගෙවූ කුලී | 100 | |
| නව කාර්යාලය සඳහා ගෙවූ කුලී | 360 | |
| | **10 540** | **10 540** |

**අතිරේක තොරතුරු:**

(i) අංජුට අයිති ගොඩනැගිල්ලක ව්‍යාපාරය ආරම්භ කරන ලදී. මේ සඳහා වාර්ෂික ව රු. 240 000 ක කුලියක් අංජුට ගෙවිය යුතු වේ. කෙසේ වුව ද ව්‍යාපාරය 2014.10.01 දින රු. 360 000 ක වාර්ෂික කුලියකට නව ස්ථානයකට ගෙන යන ලද අතර මෙම මුළු මුදල එදින ම ගෙවන ලදී.

(ii) තොග වාර්තාවලට අනුව, 2015.03.31 දින තොගයේ පිරිවැය රු. 250 000 කි. කෙසේ වුව ද අංජු සහ සංජු විසින් ලබා ගත් පිළිවෙළින් රු. 30 000 ක් සහ රු. 20 000 ක් පිරිවැය වූ භාණ්ඩ තොග වාර්තාවල ඇතුළත් කර නොමැත.

(iii) 2015 අප්‍රේල් මාසයේ දී බෙදා හැරීමට එකඟවූ භාණ්ඩ වෙනුවෙන් ව්‍යාපාරය ලද රු. 100 000 ක අත්තිකාරමක් ප්‍රවර්තන වර්ෂයේ විකුණුම් ලෙස සටහන් කර ඇත.

(iv) හවුල් ව්‍යාපාරයේ සියලු මුදල් ගනුදෙනු බැංකු ගිණුමක් ආශ්‍රයෙන් සිදු කරනු ලැබේ. 2015.03.31 දිනට ව්‍යාපාරයේ බැංකු ගිණුමේ ශේෂය, බැංකු ප්‍රකාශනයේ ශේෂය සමග එකඟ නොවී ය. පසු ව කරන ලද විමර්ශනයේ දී පහත දෑ හෙළිදරව් විය:

- ගනුදෙනුකරුවකු විසින් රු. 40 000 ක චෙක්පතක් බැංකුවේ සෘජු ව තැන්පත් කර තිබුණි.
- ගනුදෙනුකරුවකුගෙන් ලද රු. 60 000 ක චෙක්පතක් අගරු වී තිබුණි.
- සැපයුම්කරුවකුට නිකුත් කරන ලද රු. 50 000 ක චෙක්පතක් ගෙවීමට ඉදිරිපත් කර නොතිබුණි.
- අංජුගේ ජීවිත රක්ෂණ වාරිකය ගෙවීම සඳහා නිකුත් කළ රු. 10 000 ක චෙක්පත ව්‍යාපාරයේ බැංකු ගිණුමේ සටහන් කර නොතිබුණි.

**අවශ්‍යවන්නේ:**

(1) 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා හවුල් ව්‍යාපාරයේ ආදායම් ප්‍රකාශනය (හවුල්කරුවන්ට කරන ලද විසර්ජනයන් ද සහිත ව)

(2) 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා හවුල්කරුවන්ගේ ජංගම ගිණුම්

(3) 2015.03.31 දිනට හවුල් ව්‍යාපාරයේ බැංකුවේ ඇති මුදල් සහ වෙළෙඳ ලැබිය යුතු දෑවල නිවැරදි ශේෂයන්

**(ලකුණු 10)**

පිළිතුර

**ප්‍රශ්න අංක 02**

02. (අ) (1) අංජු සහ සංජු හවුල් ව්‍යාපාරය
2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ආදායම් ප්‍රකාශනය

(රු'000)

| | | | |
|---|---|---|---|
| විකුණුම් | | 6 000 | (01) |
| **විකුණුම් පිරිවැය** | | | |
| ගැනුම් | 2 500 | | |
| ගැනිලි | (50) | (01) (2 250) | |
| තොගය | (200) | (01) | |
| දළ ලාභය | | 3 750 | |
| මෙහෙයුම් වියදම් | 820 | (01) | |
| ක්ෂය | 600 | | |
| ගොඩනැගිලි කුලී | 300 | (01) | |
| ණය පොලී | 40 | (01) (1 760) | |
| කාලච්ඡේදයේ ලාභය | | 1 990 | |
| ප්‍රාග්ධන පොලී - අංජු | 180 | (01) | |
| සංජු | 130 | (310) | |
| වේතන - අංජු | 480 | (01) | |
| සංජු | 480 | (960) | |
| ලාභ කොටස් - අංජු | (01) 480 | | |
| සංජු | 240 | (720) | |

ලද අගය නිවැරදි අනුපාතයට බෙදීම සඳහා ලකුණු ඇත.

**(ලකුණු 09)**

(2)

ජංගම ගිණුම (රු'000)

| | අංජු | සංජු | | අංජු | සංජු |
|---|---|---|---|---|---|
| ගෙවූ වැටුප් | 200 | - | (01) ප්‍රාග්ධන පොලී (01) | 180 | 130 |
| ගෙවූ ප්‍රාග්ධන පොලී | - | 100 | වේතන | 480 | 480 |
| ගෙවූ කුලී | 100 | - | ලාභ කොටස් (01) | 480 | 240 |
| ගෙවූ ණය පොලිය | 30 (01) | - | ණය පොලී | 40 | (01) |
| භාණ්ඩ ගැනිලි | 30 | 20 | කුලී | 120 | (01) |
| රක්ෂණ වාරිකය | 10 (01) | - | | | |
| ශේෂය ප/ගෙ | 930 | 730 | | | |
| | 1 300 | 850 | | 1 300 | 850 |

**(ලකුණු 07)**

(3) බැංකු ශේෂය රු.100 000 (03)

වෙළෙඳ ලැබිය යුතු දෑ රු. 920 000 (01) **(ලකුණු 04)**

| පෙරවැඩ රු'000 | | | **වෙළෙඳ ලැබිය යුතු දෑ** | |
|---|---|---|---|---|
| **බැංකු ශේෂය** | | | ඉදිරියට ගෙන ආ ශේෂය | 900 |
| ඉදිරියට ගෙන ආ ශේෂය | 130 | | අගරු වූ චෙක්පත | 60 |
| ණයගැති ප්‍රේෂණ | 40 | 01 | සෘජු ප්‍රේෂණ | (40) |
| අගරු වූ චෙක්පත | (60) | 01 | | |
| අංජුගේ ගැනිලි | (10) | 01 | | |
| | 100 | | | 920 |

01

**(ආ)** සමාගමකට එකලස් සහ නිමැවුම් යන නිෂ්පාදන දෙපාර්තමේන්තු දෙකක් සහ නඩත්තු යන සේවා දෙපාර්තමේන්තුවක් ඇත. නිෂ්පාදන දෙපාර්තමේන්තු එකම ස්ථානයක පිහිටා ඇති අතර නඩත්තු දෙපාර්තමේන්තුව වෙනම ස්ථානගත කර ඇත. පහත අසම්පූර්ණ පොදු කාර්යය පිරිවැය විශ්ලේෂණ පත්‍රිකාව **නිෂ්පාදන දෙපාර්තමේන්තු දෙක** සඳහා පිළියෙල කර ඇත:

| **පොදු කාර්යය පිරිවැය** | **විභජන පදනම** | **එකතුව (රු.'000)** | **එකලස් (රු.'000)** | **නිමැවුම් (රු.'000)** |
|---|---|---|---|---|
| බෙදාහරින ලද නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය | සෘජු | 9 800 | 5 000 | 4 800 |
| නිෂ්පාදන කළමනාකරුගේ වැටුප | | 6 000 | | |
| කුලිය | | 4 800 | | |
| විදුලිය | | 2 400 | | |
| යන්ත්‍ර ක්ෂය | | 6 000 | | |
| සේවක සුබසාධන වියදම් | | 3 000 | | |

**අතිරේක තොරතුරු:**

(i) එකලස් සහ නිමැවුම් දෙපාර්තමේන්තු අතර පොදු කාර්යය පිරිවැය විභජන පදනම්:
- නිෂ්පාදන කළමනාකරුගේ වැටුප සමාන ව බෙදා හැරේ.
- අනෙකුත් පදනම්:

| **විස්තරය** | **එකලස්** | **නිමැවුම්** | **එකතුව** |
|---|---|---|---|
| බිම් ප්‍රමාණය (වර්ග මීටර) | 20 000 | 10 000 | 30 000 |
| කිලෝවොට් පැය | 40 000 | 20 000 | 60 000 |
| යන්ත්‍ර වටිනාකම (රු.'000) | 50 000 | 10 000 | 60 000 |
| සේවකයන් ගණන | 50 | 100 | 150 |
| නඩත්තු පැය | 20 000 | 80 000 | 100 000 |

(ii) නඩත්තු දෙපාර්තමේන්තුවට බෙදා හැර ඇති මුළු පොදු කාර්යය පිරිවැය රු. 6 000 000 කි. මෙය නිෂ්පාදන දෙපාර්තමේන්තු දෙක අතරේ නඩත්තු පැය මත පදනම් ව විභජනය කළ යුතු ය.

(iii) එකලස් දෙපාර්තමේන්තුව සහ නිමැවුම් දෙපාර්තමේන්තුව පොදු කාර්යය පිරිවැය අන්තර්ග්‍රහනය සඳහා පිළිවෙළින් යන්ත්‍ර පැය සහ ශ්‍රම පැය යොදා ගැනේ. එකලස් දෙපාර්තමේන්තුව සඳහා අයවැයගත යන්ත්‍ර පැය 400 000 ක් වන අතර නිමැවුම් දෙපාර්තමේන්තුව සඳහා අයවැයගත ශ්‍රම පැය 200 000 ක් වේ.

(iv) පහත තොරතුරු සමාගම විසින් නිෂ්පාදනය කරන 'A' භාණ්ඩයට අදාළ වේ.

| | |
|---|---|
| අයවැයගත නිෂ්පාදනය | ඒකක 1 000 |
| ඒකකයක විකුණුම් මිල | රු. 2 500 |
| ඒකකයක ප්‍රාථමික පිරිවැය | රු. 500 |
| ඒකකයක් නිෂ්පාදනය සඳහා අයවැයගත පැය: | |
| - යන්ත්‍ර පැය | 3 |
| - ශ්‍රම පැය | 5 |
| අයවැයගත නිෂ්පාදන නොවන පොදු කාර්යය පිරිවැය: | |
| - ඒකකයක විචල්‍ය පොදු කාර්යය පිරිවැය | රු. 300 |
| - ස්ථාවර පොදු කාර්යය පිරිවැය | රු. 400 000 |

**අවශ්‍යවන්නේ:**

(1) නිෂ්පාදන දෙපාර්තමේන්තු දෙක සඳහා සම්පූර්ණ කරන ලද පොදු කාර්යය පිරිවැය විශ්ලේෂණ පත්‍රිකාව
(2) එක් එක් නිෂ්පාදන දෙපාර්තමේන්තුව සඳහා පොදු කාර්යය පිරිවැය අන්තර්ග්‍රහන අනුපාත
(3) 'A' භාණ්ඩයෙන් අපේක්ෂිත ලාභය හෝ අලාභය දක්වන ප්‍රකාශනයක්

**(ලකුණු 10 යි)**

**(මුළු ලකුණු 20 යි)**

**(ආ) (1)** පොදු කාර්ය පිරිවැය විශ්ලේෂණ පත්‍රිකාව රු' 000

| අයිතමය | විභජන පදනම | එකතුව | නිෂ්පාදන දෙපාර්තමේන්තු | | සේවා දෙපාර්තමේන්තුව |
|---|---|---|---|---|---|
| | | | එකලස් | නිමැවුම් | නඩත්තු |
| බෙදා හරින ලද නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය | සෘජු | 15 800 | 5 000 | 4 800 | 6 000 |
| නිෂ්පාදන කළමනාකරුගේ වැටුප | සමානව (1:1) | 6 000 | 3 000 | 3 000 (01) | |
| කුලිය | බිම් ප්‍රමාණය (2:1) | (01) 4 800 | 3 200 | 1 600 (01) | |
| විදුලිය | කිලෝවොට් පැය (2:1) | (01) 2 400 | 1 600 | 800 (01) | |
| යන්ත්‍ර ක්ෂය | යන්ත්‍ර වටිනාකම (5:1) | (01) 6 000 | 5 000 | 1 000 (01) | |
| සේවක සුභසාධන වියදම් | සේවක සංඛ්‍යාව (1:2) | (01) 3 000 | 1 000 | 2 000 (01) | |
| | | 38 000 | 18 800 | 13 200 | 6 000 |
| නඩත්තු දෙපාර්තමේන්තු පොදු කාර්ය පිරිවැය | නඩත්තු පැය (1:4) | | 1 200 | 4 800 | (01) (6 000) |
| | | 38 000 | 20 000 | 18 000 | - |

**(ලකුණු 10)**

(2)

| | එකලස් | නිමැවුම් |
|---|---|---|
| පොදු කාර්ය පිරිවැය අන්තර්ග්‍රහණය | යන්ත්‍ර පැයකට | ශ්‍රම පැයකට |
| අනුපාත | රු. 50 **(02)** | රු. 90 **(02)** |

(ලකුණු 04)

**පෙරවැඩ**

| එකලස් | නිමැවුම් |
|---|---|
| (01) 20 000 / 400 (01) | (01) 18 000 / 200 (01) |
| රු. 50 | රු. 90 |

(3) A භාණ්ඩයෙන් අපේක්ෂිත ලාභය/අලාභය

රු'000

| | | |
|---|---|---|
| ඒකකයක විකුණුම් මිල | 2 500 | **(01)** |
| ප්‍රාථමික පිරිවැය | (500) | **(01)** |
| නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය | | |
| එකලස් 50 x 3 **(01)** | (150) | |
| නිමැවුම් 90 x 5 **(01)** | (450) | |
| නිෂ්පාදන නොවන පොදු කාර්ය පිරිවැය | | |
| - විචල්‍ය | (300) | **(01)** |
| - ස්ථාවර 400 000 / 1 000 | (400) | **(01)** |
| ලාභය | 700 | |

**(ලකුණු 06)**

**(මුළු ලකුණු 40)**

**2 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :**




ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 20 x 2 = ලකුණු 40කි.
2 ප්‍රශ්නය ද අනිවාර්ය ප්‍රශ්නයක් වුවද ඒ සඳහා පිළිතුරු සපයා ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 99%ක් පමණි.
ඉන් ලකුණු 00 - 10 ප්‍රාන්තරයේ 20%ක් ද,
ලකුණු 11 - 20 ප්‍රාන්තරයේ 20%ක් ද,
ලකුණු 21 - 30 ප්‍රාන්තරයේ 28%ක් ද,
ලකුණු 31 - 40 ප්‍රාන්තරයේ 32%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. ඒ අනුව මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 31ට වඩා ලකුණු ලබාගත් පිරිස අයදුම්කරුවන්ගෙන් 32%ක් පමණක් වන අතර, අයදුම්කරුවන්ගෙන් 20%ක්ම ලබාගෙන ඇත්තේ ලකුණු 10ට වඩා අඩුවෙනි.




අනුකොටස් 6කින් යුත් මෙම ප්‍රශ්නයේ පහසුතාව 47%කට වඩා ඉහළය. පහසුතාව වැඩිම අනුකොටස (ආ) (2) වන අතර එහි පහසුතාවය 71%කි. පහසුතාව අඩුම අනුකොටස (අ) 2 වේ. එහි පහසුතාව 47%කි.

2 වන ප්‍රශ්නයේ (අ) (1) කොටසෙහි පහසුතාව 52%කි. බොහොමයක් අයදුම්කරුවන් ආදායම් ප්‍රකාශනයෙහි විකුණුම් නිවැරදිව ගණනය කොට නොතිබුණි. හවුල්කරුවන් විසින් සිදුකරන ලද භාණ්ඩ ගැනිලි අඩුකර නොතිබීම ණය පොලී හා ගොඩනැගිලි කුලී නිවැරදි ව ගලපා නොතිබීම යන දුර්වලතා ද දක්නට ලැබුණි.

(අ) 2 කොටසේ පහසුතාව 47%කි. හවුල්කරුවන්ට හිමි ප්‍රාග්ධන පොලී වැටුප් හා ගෙවූ ප්‍රාග්ධන පොලී හා ගෙවූ වැටුප් නිසියාකාරව ගැලපීම් කිරීම දුර්වල තත්ත්වයක ඇති බව පෙනී යයි. අංජුට හිමි ගොඩනැගිලි කුලිය ද නිවැරදි ව ගණනය කර ගලපා නොතිබීම ද, භාණ්ඩ ගැනිලි හා අංජුගේ පෞද්ගලික ජීවිත රක්ෂණ වාරිකය ජංගම ගිණුමේ ගලපා නොතිබීම ද ලකුණු අඩුවීමට හේතු වූ බව කිව හැකිය.

(අ) 3 කොටසේ පහසුතාව 59%කි. අයදුම්කරුවන් බොහොමයක් බැංකු සැසඳුම් ප්‍රකාශයක් පිළියෙල කිරීමට උත්සාහ කර තිබුණි. මුදල් ශේෂය ගණනය කිරීමේදී චෙක්පත අගරුවීම සැලකිල්ලට ගෙන නොතිබුණි. වෙළෙඳ ලැබිය යුතු ශේෂය ගණනය කිරීමේදී ද අගරු වූ චෙක්පත හා සෘජු ප්‍රේෂණ සැලකිල්ලට ගෙන නොතිබීම ද දුර්වලතාවයකි.

හවුල්කරුවන්ට හිමි ප්‍රාග්ධන පොලී හා වැටුප් ද ඔවුන්ට ගෙවිය යුතු වෙනත් දෑ වන ගොඩනැගිලි කුලී, ණය පොලී ආදිය ගිණුම්ගත කළයුතු ආකාරයත් ඒවායින් ගෙවන ලද ප්‍රමාණයන් ගිණුම්ගත කළයුතු ආකාරයත් පිළිබඳ ව දැනුම ප්‍රමාණවත් නොවන බව පෙනී යන බැවින් ඒ පිළිබඳ දැනුම හා භාවිතය ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය තුළින් ලබාදිය යුතුවේ.

(ආ) 1 කොටසෙහි පහසුතාව 66%කි. බොහෝ සිසුන් පොදු කාර්ය පිරිවැය විශ්ලේෂණ පත්‍රිකාව නිවැරදි ව පිළියෙල කර තිබුණි. සමහර සිසුන්ට විභජන පදනම හඳුනා ගැනීමට නොහැකි වී ඇති බව පෙනී යන කරුණකි.

(ආ) 2 කොටසෙහි පහසුතාව 71%කි. එතරම් පහසුතාවයක් ඇතිවීමට හේතුව අයදුම්කරු ලද අගය අදාළ අගයෙන් බෙදා දැක්වීම නිසාය. බොහෝ අයදුම්කරුවන්ට නිවැරදි අගය ගණනය කිරීමට අපහසු වී තිබුණි.

(ආ) 3 කොටසෙහි පහසුතාව 52%කි. නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය ලද අගය මත ගණනය කිරීම නිසා ලකුණු ලබාදීමට සිදුවිය. ලාභය ගණනය කිරීමේදී නිෂ්පාදන නොවන පොදු කාර්ය පිරිවැය ස්ථාවර හා විචල්‍ය වශයෙන් වෙන්කර හඳුනා ගැනීමට බොහෝ අයදුම්කරුවන් අපොහොසත් වී තිබුණි. සිසුන්ට පොදු කාර්ය පිරිවැය **නිෂ්පාදන** හා **නිෂ්පාදන නොවන** ලෙස හඳුනා ගැනීමට හැකිවන පරිදි ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සැලසුම් කිරීම කළයුතුය.

03 ප්‍රශ්නය

**3.** නාරද 2015.03.01 දින රු. 150 000 ක් මුදල් ආයෝජනය කරමින් ඔහුගේ නිවසේ කොටසක ලිපිද්‍රව්‍ය අලෙවිසැලක් ආරම්භ කරන ලදී. තවද ඔහු ව්‍යාපාරයේ භාවිතය සඳහා රු. 60 000 ක් වටිනා ලී බඩු එදිනම ගෙන එන ලදී. ඔහු ව්‍යාපාරයේ නමින් බැංකු ගිණුමක් ආරම්භ කරන ලද අතර සියලු මුදල් ගනුදෙනු එම ගිණුම තුළින් සිදු කරන ලදී. පහත ගනුදෙනු පළමු මෙහෙයුම් මාසය තුළ දී සිදු විය.

| ගනුදෙනු අංකය | ගනුදෙනුව |
|---|---|
| 1 | රු. 100 000 ක ලිපිද්‍රව්‍ය අයිතම අත්පිට මුදලට මිල දී ගන්නා ලදී. |
| 2 | රු. 70 000 ක් පිරිවැය වූ ලිපිද්‍රව්‍ය අයිතම රු. 100 000 ක අත්පිට මුදලට විකුණන ලදී. |
| 3 | රු. 150 000 ක ලිපිද්‍රව්‍ය අයිතම ණයට මිල දී ගන්නා ලදී. |
| 4 | රු. 30 000 ක ලිපිද්‍රව්‍ය අයිතම දෝෂ සහිත නිසා සැපයුම්කරුට ආපසු යවන ලදී. |
| 5 | 2015.03.15 දින රු. 120 000 කට පරිගණක යන්ත්‍රයක් ණයට මිල දී ගන්නා ලදී. මෙම මුදල මාස 18 ක කාලයක් තුළ ගෙවිය යුතු ය. |
| 6 | රු. 100 000 ක් පිරිවැය වූ ලිපිද්‍රව්‍ය අයිතම රු. 140 000 කට ණයට විකුණන ලදී. |
| 7 | රු. 15 000 ක් වූ කාර්යාල සහකරුගේ මාසික වැටුප ගෙවන ලදී. |
| 8 | නාරදගේ පෞද්ගලික භාවිතයට රු. 30 000 ක් ව්‍යාපාරයෙන් ලබා ගන්නා ලදී. |
| 9 | ගෙවිය යුතු ශේෂය මත 5% ක වට්ටමකට යටත් ව ලිපිද්‍රව්‍ය සැපයුම්කරුට ගෙවිය යුතු මුදල ගෙවන ලදී. |
| 10 | 5% ක වට්ටමක් අඩු කිරීමෙන් පසුව ණයගැතියන්ගෙන් ලැබිය යුතු මුදල ලබා ගන්නා ලදී. |

**අතිරේක තොරතුරු:**

- 2015 මාර්තු මාසය සඳහා රු. 3 000 ක් වූ ව්‍යාපාරයේ දුරකථන ගාස්තු බිල 2015.04.02 දින ලැබුණි.
- ව්‍යාපාරයේ දේපළ, පිරියත සහ උපකරණ වාර්ෂිකව 20% බැගින් සරල මාර්ග ක්‍රමයට ක්ෂය කළ යුතු වේ.

අවශ්‍යවන්නේ:

(1) ඉහත අංක 1 සිට 10 දක්වා ගනුදෙනුවල බලපෑම (අගයන් සහිත ව) ගිණුම්කරණ සමීකරණය භාවිත කරමින් පෙන්නුම් කර, එක් එක් අගය ඉදිරියෙන් එය වැඩි වේ නම් (+) ද, අඩු වේ නම් (–) ද යන්න සඳහන් කිරීම

(මේ සඳහා පහත ආකෘතිය භාවිත කරන්න.)

රු.'000

| ගනුදෙනු අංකය | වත්කම් | | | | වගකීම් | | හිමිකම |
|---|---|---|---|---|---|---|---|
| | දේපළ, පිරියත සහ උපකරණ | තොගය | වෙළෙඳ ලැබිය යුතු දෑ | බැංකු | වෙළෙඳ ගෙවිය යුතු දෑ | ණය | |
| | | | | | | | |

(2) 2015.03.31 දිනෙන් අවසන් මාසය සඳහා ව්‍යාපාරයේ ආදායම් ප්‍රකාශනය

(3) පහත ආකෘතිය භාවිත කරමින් 2015.03.31 දිනට ව්‍යාපාරයේ හිමිකමේ සංයුතිය:

රු.'000

| | |
|---|---|
| ආරම්භක ප්‍රාග්ධනය | |
| කාලච්ඡේදය සඳහා ලාභය/(අලාභය) | |
| අඩුකලා: ගැනිලි | |
| 2015.03.31 දිනට හිමිකම | |

(මුළු ලකුණු 15 යි)

# පිළිතුර

## ප්‍රශ්න අංක 03

(3) (1)

| ගනුදෙනු අංකය | වත්කම් | | | වගකීම් | | | හිමිකම් | |
|---|---|---|---|---|---|---|---|---|
| | දේපල පිරියත සහ උපකරණ | තොගය | වෙළෙඳ ලැබිය යුතු දෑ | බැංකු | වෙළෙඳ ගෙවිය යුතු දෑ | ණය | | |
| 1 | | +100 000 | | -100 000 | | | | (01) |
| 2 | | -70 000 | | +100 000 | | | +30 000 | (02) |
| 3 | | +150 000 | | | +150 000 | | | (01) |
| 4 | | -30 000 | | | -30 000 | | | (01) |
| 5 | +120 000 | | | | | +120 000 | | (02) |
| 6 | | -100 000 | +140 000 | | | | +40 000 | (02) |
| 7 | | | | -15 000 | | | -15 000 | (01) |
| 8 | | | | -30 000 | | | -30 000 | (01) |
| 9 | | | | -114 000 | -120 000 | | +6 000 | (02) |
| 10 | | | -140 000 | +133 000 | | | -7 000 | (02) |

(ලකුණු 15)

(2)

නාරදගේ ව්‍යාපාරය
2015.03.31 දිනෙන් අවසන් මාසය සඳහා ආදායම් ප්‍රකාශනය

| | | |
|---|---|---|
| **විකුණුම්** | | 240 000 (01) |
| **විකුණුම් පිරිවැය** | | |
| ගැනුම් | 250 000 | (01) |
| ආපසු යැවුම් | (30 000) | (01) |
| තොගය | (50 000) | (01) (170 000) |
| දළ ලාභය | | 70 000 |
| ලද වට්ටම් | | 6 000 (01) |
| **වියදම්** | | |
| වැටුප් | 15 000 | (01) |
| දුන් වට්ටම් | 7 000 | (01) |
| දුරකථන ගාස්තු | 3 000 | (01) |
| ලීබඩු ක්ෂය | 1 000 | (01) |
| පරිගණක ක්ෂය | 1 000 | (01) (27 000) |
| කාලච්ඡේදයේ ලාභය | | (01) 49 000 |

**(ලකුණු 11)**

(3)

| | රු' 000 |
|---|---|
| ආරම්භක ප්‍රාග්ධනය | 210 (02) |
| කාලච්ඡේදයේ ලාභය | (01) 49 |
| ගැනිලි | (30) (01) |
| 2015.03.31 දිනට හිමිකම | 229 |

**(ලකුණු 04)**
**(මුළු ලකුණු 30)**

3 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 15 x 2 = ලකුණු 30කි.
3 ප්‍රශ්නය අයදුම්කරුවන්ගෙන් 95%ක් පමණ තෝරා ගෙන ඇත.
ඉන් ලකුණු 00 - 07 ප්‍රාන්තරයේ 13%ක් ද,
ලකුණු 08 - 15 ප්‍රාන්තරයේ 20%ක් ද,
ලකුණු 16 - 23 ප්‍රාන්තරයේ 27%ක් ද,
ලකුණු 24 - 30 ප්‍රාන්තරයේ 40%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. ඒ අනුව මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 24 හෝ ඊට වඩා ලකුණු ලබාගත් පිරිස 40%ක් වන අතර ලකුණු 7 හෝ ඊට අඩුවෙන් ලබාගත් සිසුන් පිරිස අයදුම්කරුවන්ගෙන් 13%කි.




මෙම ප්‍රශ්නයට අයත් අනුකොටස් 3 අතුරෙන් පහසුතාව වැඩිම කොටස (3) වන අතර එහි පහසුතාව 79%කි. එසේම පහසුතාවය අඩුම කොටස (2) වන අතර එහි පහසුතාවය 51% කි.

(3) (1) වන කොටසේ පහසුතාව 59%කි. ණය හිමියන්ට මුදල් ගෙවීමේදී ලද වට්ටම වගකීම් අඩුවීමක් ලෙස සමහර අයදුම්කරුවන් හඳුනා ගෙන නොතිබුණි. එසේම ණයගැතියන්ගෙන් මුදල් ලැබීමේදී දුන් වට්ටම වත්කම් අඩුවීමක් ලෙස හඳුනාගෙන නොතිබුණි.

ජංගම නොවන වත්කමක් ණයට මිලදී ගෙන තිබූ අතර එම වගකීම **ජංගම වගකීමක් ද ජංගම නොවන වගකීමක් ද** යන්න පැහැදිලි ව හඳුනා ගෙන නොතිබුණි.

(2) වන කොටසේ පහසුතාව 51%කි. අතිරේක තොරතුරු භාවිත කරමින් දේපළ පිරියත හා උපකරණවල ක්ෂය ගණනය කිරීම බොහෝ අයදුම්කරුවන් විසින් හඳුනාගෙන නොතිබුණි.

(3) වන කොටසේ පහසුතාව 79%කි. මෙහිදී හිමිකම ගණනය කිරීමට අදාළ ආකෘතියක් ලබාදීම අයදුම්කරුවන්ට පහසුවක් වී තිබුණි.

04 ප්‍රශ්නය

**4.** **(අ)** පහත තොරතුරු සමාගමක් භාවිත කරන අමුද්‍රව්‍යයකට අදාළ වේ.

(i) 2015 මාර්තු මාසය සඳහා තොග ලෙජරයේ සාරාංශය:

| දිනය | විස්තරය | ප්‍රමාණය (ඒකක) | ඒකකයක මිල (රු.) |
|---|---|---|---|
| 2015.03.01 | ශේෂය | 4 000 | 12 |
| 2015.03.10 | ගැනුම් | 8 000 | 15 |
| 2015.03.20 | නිකුත් කිරීම් | 7 000 | ? |
| 2015.03.25 | ගැනුම් | 8 000 | 20 |
| 2015.03.31 | ශේෂය | 13 000 | |

(ii) තොග නිකුත් කිරීම් මිල කිරීම සඳහා සමාගම භරිත සාමාන්‍ය ක්‍රමය භාවිත කරයි.

(iii) වෙනත් තොරතුරු:

| | පරිභෝජනය (මාසයකට ඒකක) | පොරොත්තු කාලය (මාස) |
|---|---|---|
| උපරිම | 3 000 | 4 |
| අවම | 1 000 | 2 |

**අවශ්‍යවන්නේ:**

(1) යළි ඇණවුම් ප්‍රමාණය

(2) 2015.03.20 දින නිකුත් කළ තොගයේ වටිනාකම

(3) යළි ඇණවුම් මට්ටම

(4) උපරිම තොග මට්ටම

(5) අවම තොග මට්ටම

**(ලකුණු 05 යි)**

## පිළිතුර

**ප්‍රශ්න අංක 04**

04. (අ) (1) ඒකක 8 000 (01)

(2) රු 98 000 (03)

**පෙරවැඩ :** 01

$\frac{168\,000}{12\,000}$ 01 $= 14 \times 7\,000$ 01

(3) ඒකක 12 000 (01)

**පෙරවැඩ :**

උපරිම පරිභෝජනය × උපරිම පොරොත්තු කාලය

3 000 × 4

(4) ඒකක 18 000 (03)

**පෙරවැඩ :**

යළි ඇණවුම් මට්ටම + යළි ඇණවුම් ප්‍රමාණය - (අවම පරිභෝජන × අවම පොරොත්තු කාලය)

01 12 000 + 01 8 000 - (1 000 × 2) 01

20 000 - 2 000

(5) ඒකක 6 000 (02)

**පෙරවැඩ :**

යළි ඇණවුම් - (සාමාන්‍ය පරිභෝජනය × සාමාන්‍ය ඇණවුම් කාලය)

01 12 000 - (2 000 × 3) 01

12 000 - 6 000

**(ලකුණු 10)**

(ආ) පෞද්ගලික ඉතුරුම්වලින් රු. 600 000 ක් ආයෝජනය කරමින් 2015.03.01 දින සිතුම් විසින් වෙළෙඳ ව්‍යාපාරයක් ආරම්භ කරන ලදී. 2015 මාර්තු මාසය තුළ සිදු කරන ලද ගනුදෙනුවල සාරාංශයක් පහත දී ඇත.

(i) මුදල් ලැබීම් සහ ගෙවීම්:

| | රු. '000 |
|---|---|
| **ලැබීම්:** | |
| විකුණුම් | 1 800 |
| ණයගැතියන්ගෙන් ලද මුදල් | 5 600 |
| **ගෙවීම්:** | |
| ගැනුම් | 1 200 |
| ණයහිමියන්ට ගෙවූ මුදල් | 3 400 |
| වියදම් | 1 400 |

(ii) ණයහිමියන්ගෙන් රු. 400 000 ක මුදල් වට්ටමක් ලැබුණු අතර ණයගැතියන්ට රු. 200 000 ක මුදල් වට්ටමක් දෙන ලදී.

(iii) අනෙකුත් මූලික පොත්වල එකතුන්:

| **මූලික පොත** | **එකතුව (රු. '000)** |
|---|---|
| ගැනුම් ජර්නලය | 10 800 |
| විකුණුම් ජර්නලය | 10 000 |
| ආපසු යැවුම් ජර්නලය | 300 |
| ආපසු එවුම් ජර්නලය | 200 |

(iv) 2015.03.31 දිනට ණයහිමි පාලන ගිණුමේ සහ ණයගැති පාලන ගිණුමේ ශේෂයන් අදාළ උප ලෙජර ශේෂයන්ගේ එකතුන් සමග එකඟ නොවී ය. පසුව කරන ලද විමර්ශනයේ දී පහත දෑ හෙළිදරව් විය:

1. රු. 1 800 000 කට ලොරියක් ණයට මිල දී ගැනීම ගැනුම් ජර්නලයේ සටහන් කර තිබුණි.
2. මාසය තුළ දී රු. 100 000 ක් බොල් ණය ලෙස කපා හැරීම ණයගැති පාලන ගිණුමේ සටහන් කර නොතිබුණි.
3. ආපසු එවුම් ජර්නලයේ එකතුව වූ රු. 200 000, ණයගැති පාලන ගිණුමේ රු. 2 000 000 ක් ලෙස සටහන් කර තිබුණි.

**අවශ්‍යවන්නේ:**

(1) 2015 මාර්තු මාසය සඳහා මුදල් ලැබීම් ජර්නලය සහ මුදල් ගෙවීම් ජර්නලය

(2) වැරදි නිවැරදි කිරීමට ජර්නල් සටහන් *(සංලක්ෂ්‍යය අවශ්‍ය වේ)*

(3) වැරදි නිවැරදි කිරීමෙන් පසු ණයහිමි පාලන ගිණුම සහ ණයගැති පාලන ගිණුම

**( ලකුණු 10 යි)**

**(මුළු ලකුණු 15 යි)**

## පිළිතුර

(ආ) (1) ලැබීම් ජර්නලය රු'000

| දිනය | විස්තරය | දුන් වට්ටම් | මුදල් | ලැබීම් විශ්ලේෂණය | | |
|---|---|---|---|---|---|---|
| | | | | අත්පිට විකුණුම් | ණයගැති ලැබීම් | ප්‍රාග්ධනය /වෙනත් |
| | ප්‍රාග්ධනය | | 600 | - | - | 6 00 (01) |
| | විකුණුම් | | 1 800 | 1 800 (01) | - | - |
| | ණයගැති ලැබීම් | 200 | 5 600 | - | 5 600 (01) | |
| | | 200 | 8 000 | 1 800 | 5 600 | 6 00 |

ගෙවීම් ජර්නලය රු'000

| දිනය | විස්තරය | ලද වට්ටම් | මුදල් | ගෙවීම් විශ්ලේෂණය | | |
|---|---|---|---|---|---|---|
| | | | | අත්පිට ගැනුම් | ණයහිමි ගෙවීම් | වියදම් /වෙනත් |
| | ගැනුම් | - | 1 200 | 1 200 (01) | - | - |
| | ණයහිමියන්ට ගෙවීම් | 400 | 3 400 | - | 3 400 (01) | - |
| | වියදම් | - | 1 400 | - | - | 1 400 (01) |
| | | 400 | 6 000 | 1 200 | 3 400 | 1 400 |

(ලකුණු 06)

(2) පොදු ජර්නලය රු'000

| | හර | බැර | |
|---|---|---|---|
| ණයහිමි පාලන ගිණුම | 1 800 | | |
| ගැනුම් ගිණුම | | 1 800 | (02) |
| (ලොරියක් ණයට ගැනීම ගැනුම් ජර්නලයේ සටහන් කර තිබීම නිවැරදි කිරීම.) | | | |
| මෝටර් රථ ගිණුම | 1 800 | | |
| මොටර් රථ ණය ගිණුම/ගැනුම් ගිණුම | | 1 800 | (02) |
| (රු.1 800 කට ලොරියක් ණයට ගැනීම සටහන් කිරීම) | | | |
| අවිනිශ්චිත ගිණුම | 100 | | |
| ණයගැති පාලන ගිණුම | | 100 | (02) |
| (රු.100ක බොල්ණය කපාහැරීම ණයගැති පාලන ගිණුමේ සටහන් වී නොතිබීම සටහන් කිරීම) | | | |
| ණයගැති පාලන ගිණුම | 1 800 | | |
| අවිනිශ්චිත ගිණුම | | 1 800 | (02) |
| (ණයගැති පාලන ගිණුමේ ආපසු එවුම් රු.1 800ක් වැඩියෙන් සටහන් වී තිබීම නිවැරදි කිරීම) | | | |

* සංලක්ෂ්‍යය ලියා නොමැති නම් ලකුණු 02ක් අඩුකළ යුතුය. **(ලකුණු 08)**

(3) ණයහිමි පාලන ගිණුම රු'000

| | | | | | |
|---|---|---|---|---|---|
| ගැනුම් | 1 800 | (01) | ශේෂය ඉ/ගෙ | 6 700 | (02) |
| ශේෂය ප/ගෙ | 4 900 | | | | |
| | 6 700 | | | 6 700 | |
| | | | ශේෂය ඉ/ගෙ | 4 900 | |

පෙරවැඩ - (*අයිතම 2 කට ලකුණු 01 බැගින් ලකුණු 02)

| | | | |
|---|---|---|---|
| * ආපසු යැවුම් | 300 | * ගැනුම් | 10 800 |
| * මුදල් | 3 400 | | |
| * ලද වට්ටම් | 400 | | |
| ශේෂය ප/ගෙ | 6 700 | | |
| | 10 800 | | 10 800 |

ණයගැති පාලන ගිණුම රු' 000

| | | | | |
|---|---|---|---|---|
| ශේෂය ඉ/ගෙ | 2 200 (02) | අවිනිශ්චිත | 100 | (01) |
| ආපසු එවුම් | 1 800 | ශේෂය ප/ගෙ | 3 900 | |
| | 4 000 | | 4 000 | |
| ශේෂය ඉ/ගෙ | 3 900 | | | |

පෙරවැඩ - (*අයිතම 2 කට ලකුණු 01 බැගින් ලකුණු 02)

| | | | |
|---|---|---|---|
| * විකුණුම් | 10 000 | * මුදල් | 5 600 |
| | | * දුන් වට්ටම් | 200 |
| | | * ආපසු එවුම් | 200 |
| | 10 000 | ශේෂය ප/ගෙ | 4 000 |
| | | | 10 000 |

**(ලකුණු 06)**
**(මුළු ලකුණු 30)**

4 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 15 x 2 = ලකුණු 30 කි.
4 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 73%ක් පමණි.
ඉන් ලකුණු 00 - 07 ප්‍රාන්තරයේ 34%ක් ද,
ලකුණු 08 - 15 ප්‍රාන්තරයේ 28%ක් ද,
ලකුණු 16 - 23 ප්‍රාන්තරයේ 23%ක් ද,
ලකුණු 24 - 30 ප්‍රාන්තරයේ 15%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. ඒ අනුව මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 24 හෝ ඊට වැඩියෙන් ලකුණු ලබාගත් පිරිස 15%ක් පමණක් වන අතර අයදුම්කරුවන්ගෙන් 34%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 07 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් අනුකොටස් 3ක පහසුතාව 50%ට වඩා ඉහළ ය. පහසුතාව අවම අනුකොටස (ආ) (2) වන අතර එහි පහසුතාව 42%ක් වේ. පහසුතාව වැඩිම අනුකොටස (අ) (3) වන අතර එහි පහසුතාව 72% වේ.

(4) (අ) (1) කොටසේ පහසුතාව 53%කි. අමුද්‍රව්‍ය ගැනුම් ප්‍රමාණය සැම විටම සමාන ප්‍රමාණයක් වීම යළි ඇනවුම් ප්‍රමාණය බව අවබෝධ කර ගැනීමට සමහර අයදුම්කරුවන්ට අපහසු වී ඇති බව පෙනී යයි.

(අ) (2) කොටසේ පහසුතාව 45%කි. අමුද්‍රව්‍ය නිකුත් කිරීමේ මිල සොයා ගැනීමට තොග නිකුත් කිරීම් මිල කිරීම සූත්‍රය අනුගමනය කළයුතු බව බොහෝ අයදුම්කරුවන්ට අවබෝධ කරගැනීමට අපහසු වී ඇති බව පෙනී යයි.

(අ) (3) කොටසේ පහසුතාව 72%කි. මෙම කොටසේ පහසුතාව වැඩි වී ඇත්තේ තොග මට්ටම් පිළිබඳ ඉතා පහසු සූත්‍රයක් වීමයි. එහෙත් සමහර අයදුම්කරුවන්ට මේ පිළිබඳ අවබෝධය අඩුවීම ද දැකිය හැකි කරුණකි.

(අ) (4) කොටසේ පහසුතාව 57%කි. තොග මට්ටම් පිළිබඳ සූත්‍ර සමහර අයදුම්කරුවන් පහසුවෙන් භාවිත කර තිබුණ ද සමහර අයදුම්කරුවන්ට මෙම සූත්‍ර පිළිබඳ මතකය අඩුවීම ලකුණු අඩුවීමට හේතු වූ බව කිව හැකිය.

(ආ) (5) කොටසේ පහසුතාව 64%කි. අවම තොග මට්ටම ගණනය කිරීමට පෙර සාමාන්‍ය පරිභෝජනය හා සාමාන්‍ය ඇනවුම් කාලය ගණනය කිරීමට සිදුවීම සමහර අයදුම්කරුවන්ට අපහසු වී ඇති බව පෙනී යයි.

(ආ) (1) කොටසේ පහසුතාව 44%කි. මූලික පොත් පිළිබඳ ප්‍රශ්නයක් නව ආකාරයකින් ඉදිරිපත් කර තිබීම හා මුදල් ලැබීම හා ගෙවීම සඳහා වෙන වෙනම ජර්නලයන් පවත්වා ගැනීම සම්බන්ධව අයදුම්කරුවන්ට පිළිතුරු සපයා තිබූ ආකාරය දුර්වල මට්ටමක පැවතුණි. ව්‍යාපාරයේ ගනුදෙනුවල ස්වභාවය අනුව විශ්ලේෂණ තීරු සහිතව ඉදිරිපත් කිරීමට නොහැකි වී තිබුණි. විශ්ලේෂණ තීරු සහිතව බැංකු/මුදල් ජර්නලයන් පවත්වා ගැනීමට අවබෝධයක් ලබාදීමට ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය වීම වැදගත් වනු ඇත.

(ආ) (2) කොටසේ පහසුතාව 42%කි. වැරදි නිවැරදි කිරීම සඳහා නිවැරදි ව ජර්නල් සටහන් ලිවීමට බොහෝ අයදුම්කරුවන් අපොහොසත් වී ඇත. ඊට හේතු විය හැක්කේ ඇත්තේ මූලික පොත්වල ගනු-දෙනු නිවැරදි ව වාර්තා කරන ආකාරය, ලෙජරය පිළියෙල කිරීමේදී ද්විත්ව සටහන් අනුගමනය කරන ආකාරය, පාලන ගිණුම් පවත්වා ගෙන යන විටෙක ලෙජර් ගිණුම්වල ද්විත්ව සටහන් යොදන ආකාරය පිළිබඳ සිසුන්ගේ දැනුම ප්‍රමාණවත් මට්ටමක නොතිබීම බව කිව හැකිය.

(ආ) (3) කොටසේ පහසුතාව 48%කි. බොහෝ සිසුන්ට වැරදි නිවැරදි කිරීමෙන් පසු පාලන ගිණුම් පිළියෙල කිරීමට අපහසු වී ඇත. නිවැරදිව පාලන ගිණුම් පිළියෙල කිරීම් පිළිබඳ අවබෝධය ලබාදීම වැදගත් වනු ඇත.

## 05 ප්‍රශ්නය

5. (අ) පහත තොරතුරු සීමිත පර්ල් පොදු සමාගමට අදාළ වේ.

| විස්තරය | 2015.03.31 දිනට (රු.'000) | 2014.03.31 දිනට (රු.'000) |
|---|---|---|
| වෙළෙඳ ලැබිය යුතු දෑ | 540 | 420 |
| තොගය | 1 800 | 2 200 |
| මුදල් සහ මුදල් සමාන දෑ | 660 | 380 |
| වෙළෙඳ ගෙවිය යුතු දෑ | 1 200 | 1 800 |
| ගෙවිය යුතු පොලී | 300 | 200 |

| 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා: | රු.'000 |
|---|---|
| මුළු විකුණුම් | 8 000 (මෙයින් 60% ක් ණයට විකුණුම් ය.) |
| ගැනුම් | 3 600 |
| ලාභය | 2 400 |

වර්ෂයකට වැඩ කරන දින 360 ක් ලෙස උපකල්පනය කරන්න.

**අවශ්‍යවන්නේ:**

2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා,

(1) ශුද්ධ ලාභ අනුපාතය

(2) දළ ලාභ අනුපාතය

(3) ජංගම අනුපාතය

(4) වෙළෙඳ ලැබිය යුතු දෑ (ණයගැති) පිරිවැටුම් අනුපාතය

(5) තොග රැඳවුම් කාලය

**(ලකුණු 05 යි)**

පිළිතුර

**ප්‍රශ්න අංක 05**

05. (අ) (1) ශුද්ධ ලාභ අනුපාතය = 30% (02)

**පෙරවැඩ : රු'000**

$$\frac{\text{ශුද්ධ ලාභය}}{\text{විකුණුම්}} \times 100 = \frac{2400 \boxed{01}}{8000 \boxed{01}} \times 100$$

(2) ශුද්ධ ලාභ අනුපාතය = 50% (02)

**පෙරවැඩ : රු'000**

$$\frac{\text{දළ ලාභය}}{\text{විකුණුම්}} \times 100 = \frac{4000 \boxed{01}}{8000 \boxed{01}} \times 100$$

(3) ජංගම අනුපාතය = 2 : 1 (02)

**පෙරවැඩ : රු'000**

$$\frac{\text{ජංගම වත්කම්}}{\text{ජංගම වගකීම}} = \frac{540 + 1\ 800 + 660}{1\ 200 + 300} = \frac{3\ 000 \boxed{01}}{1\ 500 \boxed{01}}$$

(4) වෙළෙඳ ලැබිය යුතු දෑ පිරිවැටුම් අනුපාතය = වාර 10 (02)

**පෙරවැඩ : රු'000**

$$\frac{\text{ණයට විකුණුම්}}{\text{සාමාන්‍ය ණයගැතියෝ}} = \frac{4\ 800 \boxed{01}}{480 \boxed{01}}$$

(5) තොග රැඳවුම් කාලය = දින 180 (02)

**පෙරවැඩ : රු'000**

$$\frac{\text{සාමාන්‍ය තොගය}}{\text{විකුණුම් පිරිවැය}} \times 360 = \frac{2\ 000 \boxed{01}}{4\ 000 \boxed{01}} \times 360$$

$\frac{360}{2}$ ඇත්නම් ලකුණු (02) හිමිවේ.

**(ලකුණු 10)**

(ආ) නාගෙන්ද්‍රන් මහතා කොළඹ පෞද්ගලික පාසලක් ආරම්භ කිරීමට සැලසුම් කරමින් සිටී. මෙම පාසලේ අපේක්ෂිත ආදායම් සහ පිරිවැය පහත පරිදි වේ:

සිසුවකුගෙන් ගාස්තු:

| | | |
|---|---|---|
| ලියාපදිංචි ගාස්තු | වර්ෂයකට | රු. 12 000 |
| පහසුකම් ගාස්තු | වර්ෂයකට | රු. 12 000 |
| පාඨමාලා ගාස්තු | මාසිකව | රු. 10 000 |

පිරිවැය:

| | | |
|---|---|---|
| පාඨමාලා අත්පොත් මුද්‍රණය | සිසුවකුට මාසිකව | රු. 4 000 |
| ලිපිද්‍රව්‍ය | සිසුවකුට මාසිකව | රු. 3 000 |
| ක්‍රීඩා වියදම් | සිසුවකුට මාසිකව | රු. 1 000 |
| ගොඩනැගිල්ල සඳහා කුලී | මාසිකව | රු. 40 000 |
| වැටුප් | මාසිකව | රු. 30 000 |
| ප්‍රචාරණ සහ ප්‍රවර්ධන | මාසිකව | රු. 10 000 |

**අවශ්‍යවන්නේ:**

(1) එක් සිසුවකු මත වාර්ෂික දායකය

(2) පාසලේ වාර්ෂික මුළු ස්ථාවර පිරිවැය

(3) මුළු වාර්ෂික පිරිවැය ආවරණය කිරීම සඳහා බඳවා ගත යුතු සිසුන් ගණන

(4) රු. 240 000 ක ලාභයක් ඉපැයීමට බඳවා ගත යුතු සිසුන් ගණන

(5) සිසුන් 50 ක් බඳවා ගන්නා අතර ඉන් 10 දෙනකුගේ පාඨමාලා ගාස්තු අය නොකරන්නේ නම් අපේක්ෂිත ලාභය හෝ අලාභය

(ලකුණු 10 යි)

(මුළු ලකුණු 15 යි)

## පිළිතුර

05. (ආ) (1) එක් සිසුවෙකු මත වාර්ෂික දායකය = රු 48 000 (05)

**පෙරවැඩ**

ආදායම - විචල්‍ය පිරිවැය

144 000 - 96 000

| ආදායම් | රු | | විචල්‍ය පිරිවැය | රු | |
|---|---|---|---|---|---|
| ලියාපදිංචි ගාස්තු | 12 000 | 01 | අත්පොත් මුද්‍රණය | 48 000 | 01 |
| පහසුකම් ගාස්තු | 12 000 | | ලිපි ද්‍රව්‍ය | 36 000 | 01 |
| පාඨමාලා ගාස්තු | 120 000 | 01 | ක්‍රීඩා වියදම් | 12 000 | 01 |
| | 144 000 | | | 96 000 | |

(2) වාර්ෂික මුළු ස්ථාවර පිරිවැය = රු.960 000 (04)

**පෙරවැඩ**

| | රු | |
|---|---|---|
| ගොඩනැගිලි කුලී | 40 000 | 01 |
| වැටුප් | 30 000 | 01 |
| ප්‍රචාරණ හා ප්‍රවර්ධන | 10 000 | 01 |
| | 80 000 × 12 | 01 |
| | 960 000 | |

(3) මුළු වාර්ෂික පිරිවැය ආවරණය සඳහා බඳවාගත යුතු සිසුන් ගණන = 20 (02)

**පෙරවැඩ**

$$\frac{\text{ස්ථාවර පිරිවැය}}{\text{ඒකක දායකය}} = \frac{960\,000 \ [01]}{48\,000 \ [01]}$$

(4) රු.240 000 ක ලාභයක් ඉපයීමට බඳවාගත යුතු සිසුන් ගණන = 25 (03)

| පෙරවැඩ | | |
|---|---|---|
| $\frac{\text{ස්ථාවර පිරිවැය + අවශ්‍ය ලාභය}}{\text{ඒකක දායකය}}$ | = | $\frac{\boxed{01}\ 960\ 000 + 240\ 000\ \boxed{01}}{\boxed{01}\ 48\ 000}$ |

(5) සිසුන් 50 ක් බඳවා ගන්නා අතර එයින් 10 දෙනෙකුගේ
පාඨමාලා ගාස්තු අය නොකරන්නේ නම් ලාභය = රු. 240 000 (06)

පෙරවැඩ (ඉහත පිළිතුර ලබා ගත හැකි විකල්ප ආකාර කිහිපයක් පහත දැක්වේ.

**විකල්ප 01**

| | | | |
|---|---|---|---|
| **ආදායම්** | | | |
| ලියාපදිංචි ගාස්තු 12 000 × 50 | 600 000 } 01 | 6 000 000 | |
| පහසුකම් ගාස්තු 12 000 × 50 | 600 000 } | | |
| පාඨමාලා ගාස්තු 10 000 × 40 × 12 | 4 800 000 02 | | |
| **විචල්‍ය පිරිවැය** | | | |
| (48 000 + 36 000 + 12 000) × 50 | | (4 800 000) | 02 |
| දායකය | | 1 200 000 | |
| ස්ථාවර පිරිවැය | | 01 (960 000) | |
| | | 240 000 | |

**විකල්ප 02**

| | | |
|---|---|---|
| මුළු දායකය 01 48 000 × 50 (01) | 2 400 000 | |
| ගාස්තු අත්හැරීම 10 000 01 × 12 01 × 10 01 | (1 200 000) | |
| | 1 200 000 | |
| ස්ථාවර පිරිවැය 96 000 × 10 | (960 000) | 01 |
| ලාභය | 240 000 | |

**විකල්ප 03**

අපේක්ෂිත ලාභය = (ආරක්ෂිත ආන්තිකය × ඒකක දායකය) - ගාස්තු අත්හැරීම්

= (30 [02] × 48 000 [01]) - 120 000 [02] × 10 [01]

= 1 400 000 - 1 200 000

= රු 240 000

**(ලකුණු 20)**

**(මුළු ලකුණු 30)**

5 වන ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 15 x 2 = ලකුණු 30කි.
5 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 79%ක් පමණි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 30ක් හිමිවේ.
ඉන් ලකුණු 00 - 07 ප්‍රාන්තරයේ 21%ක් ද,
ලකුණු 08 - 15 ප්‍රාන්තරයේ 23%ක් ද,
ලකුණු 16 - 23 ප්‍රාන්තරයේ 23%ක් ද,
ලකුණු 24 - 30 ප්‍රාන්තරයේ 33%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 24 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 33%ක් වන අතර අයදුම්කරුවන්ගෙන් ලකුණු 07 හෝ ඊට අඩුවෙන් ලබාගෙන ඇති ප්‍රතිශතය 21%කි.




මෙම ප්‍රශ්නයට අයත් අනු කොටස් 10න් කොටස් 8ක පහසුතාව 70% වඩා ඉහළය. ඉහළම පහසුතාව (අ) (1) 82%කි. (ආ) (2) 79%කි. අඩුම පහසුතාව (අ) (5) 59%ක්ද, (ආ) (5) 39%ක් ද වේ.

(5) (අ) (5) පහසුතාව 59%කි. තොග පිරිවැටුම් අනුපාතය තුළින් තොග විකිණීමට ගතවන කාලය හඳුනා ගැනීමට හැකි බව පිළිබඳ ව අයදුම්කරුවන්ගේ අවබෝධය දුර්වල මට්ටමක පැවතුණි.

(ආ) (5) පහසුතාව 39%කි. මෙහි පහසුතාව අඩුවීමට හේතු වී ඇත්තේ අයදුම්කරුවන්ගේ පාඨමාලා ආදායම ගණනය කරන විට, සිසුන් 10 දෙනෙකුගේ පාඨමාලා ගාස්තුව අත්හැරීම හඳුනා ගැනීමට අපහසු වී තිබීමයි. එමෙන්ම ලාභය ගණනය කරන විට විකල්පයන් ඇති බැවින් එම විකල්ප අතුරෙන් ඉතා පහසු ක්‍රමය අවබෝධ කරගැනීමට නොහැකිවීමයි.

## 06 ප්‍රශ්නය

**6.** සීමිත සුමුදු පොදු සමාගමේ 2015.03.31 සහ 2014.03.31 දිනවලට සාරාංශගත මූල්‍ය තත්ත්ව ප්‍රකාශන පහත දී ඇත.

| | 2015.03.31 දිනට (රු.'000) | 2014.03.31 දිනට (රු.'000) |
|---|---|---|
| දේපළ, පිරියත සහ උපකරණ - පිරිවැයට | 19 600 | 13 100 |
| දේපළ, පිරියත සහ උපකරණ - සමුච්චිත ක්ෂය | (3 800) | (2 800) |
| තොගය | 1 500 | 1 400 |
| වෙළෙඳ ලැබිය යුතු දෑ | 1 600 | 1 800 |
| මුදල් සහ මුදල් සමාන දෑ | 400 | 500 |
| **මුළු වත්කම්** | **19 300** | **14 000** |
| ප්‍රකාශිත සාමාන්‍ය කොටස් ප්‍රාග්ධනය | 9 500 | 8 000 |
| රඳවාගත් ඉපැයුම් | 5 500 | 4 400 |
| ඉඩම සඳහා ණය | 2 400 | – |
| වෙළෙඳ ගෙවිය යුතු දෑ | 1 750 | 1 600 |
| ණය මත ගෙවිය යුතු පොලී | 150 | – |
| **මුළු වගකීම් සහ හිමිකම** | **19 300** | **14 000** |

**අතිරේක තොරතුරු:**

(i) වර්ෂය තුළ දී පිරිවැය රු. 1 000 000 ක් වූ කාර්යාල උපකරණ රු. 300 000 ක අත්පිට මුදලට විකුණන ලදී. විකුණූ දිනයේ දී මෙම උපකරණවල ධාරණ වටිනාකම රු. 600 000 ක් විය.

(ii) 2014.04.01 දින රු. 3 000 000 ක් වටිනා ඉඩමක් ණයට මිල දී ගන්නා ලදී. මෙම ණය මුදල රු. 600 000 බැගින් වූ සමාන වාරික 5 කින් ප්‍රවර්තන වර්ෂයේ සිට ගෙවිය යුතු වේ. තව ද මූලික ණය මුදල මත 5% ක වාර්ෂික පොලියක් ගෙවිය යුතු වේ.

(iii) වර්ෂය තුළ අත්පත් කර ගත් අනෙකුත් සියලු දේපළ, පිරියත සහ උපකරණ අත්පිට මුදලට මිල දී ගෙන ඇත.

(iv) වර්ෂය තුළ දී රු. 400 000 ක අතුරු ලාභාංශයක් ගෙවා ඇත.

(v) වර්ෂය තුළ දී නිකුත් කළ සාමාන්‍ය කොටස්වල සංයුතිය පහත පරිදි වේ:

| නිකුතුවේ වර්ගය | වටිනාකම (රු.'000) |
|---|---|
| හිමිකම් කොටස් නිකුතුව | 1 000 |
| රඳවාගත් ඉපැයුම් ප්‍රාග්ධනීත කරමින් නිකුත් කළ කොටස් | 500 |
| **එකතුව** | **1 500** |

කොටස්කරුවන් විසින් සියලු හිමිකම් ලබා ගන්නා ලද අතර මුදල් නියමිත පරිදි ලැබිණි.

(vi) සමාගම බදු නිදහස් කාලයක් තුළ ක්‍රියාත්මක වේ.

**අවශ්‍යවන්නේ:**

(1) LKAS 7 (මුදල් ප්‍රවාහ ප්‍රකාශනය) ප්‍රමිතයට අනුව 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා සීමිත සුමුදු පොදු සමාගමේ මුදල් ප්‍රවාහ ප්‍රකාශනය

(2) කාර්යාල උපකරණ ඉවත් කිරීමේ ගිණුම

**(මුළු ලකුණු 15 යි)**

පිළිතුර

**ප්‍රශ්න අංක 06**

(අ) (1)

**සීමිත සුමුදු පොදු සමාගම**

2015.03.31 ක්ෂනෙන් අවසන් වර්ෂය සඳහා මුදල් ප්‍රවාහ ප්‍රකාශනය (01) රු' 000

| | | |
|---|---|---|
| **මෙහෙයුම් ක්‍රියාකාරකම් තුළින් මුදල් ප්‍රවාහ** | | |
| බදු පෙර ලාභය | | 2 000 (04) |
| ක්ෂය | 1 400 (01) | |
| පොළී වියදම | 150 (01) | |
| කාර්යාල උපකරණ විකිණීමේ අලාභය | 300 (01) | 1 850 |
| මෙහෙයුම් ක්‍රියාකාරකම් තුළින් ලද මුදල් | | 3 850 |
| තොග වැඩිවීම | (100) (01) | |
| වෙළෙඳ ලැබිය යුතු දෑ අඩුවීම | 200 (01) | |
| වෙළෙඳ ගෙවිය යුතු දෑ වැඩිවීම | 150 (01) | 250 |
| මෙහෙයුම් ක්‍රියාකාරකම් තුළින් ජනනයවූ ශුද්ධ මුදල් (01) | | 4 100 |
| **ආයෝජන ක්‍රියාකාරකම් තුළින් මුදල් ප්‍රවාහ** | | |
| කාර්යාල උපකරණ විකිණීම | 300 (01) | |
| දේපළ, පිරියත උපකරණ මිලට ගැනීම් | (4 500) (02) | |
| ආයෝජන ක්‍රියාකාරකම්වල යෙදවූ ශුද්ධ මුදල් (01) | | (4 200) |
| **මූල්‍ය ක්‍රියාකාරකම් තුළින් මුදල් ප්‍රවාහ** | | |
| කොටස් නිකුත් කිරීමෙන් ලද මුදල | 1 000 (01) | |
| ඉඩම් ණය ගෙවීම | (600) (02) | |
| ගෙවූ අතුරු ලාභාංශ | (400) (01) | |
| මූල්‍ය ක්‍රියාකාරකම් තුළින් ජනනය වූ ශුද්ධ මුදල් (01) | | 0 |
| මුදල් හා මුදල් සමාන දෑ වල ශුද්ධ අඩුවීම (01) | | (100) |
| 2014.04.01 දිනට මුදල් හා මුදල් සමාන දෑ | | 500 (01) |
| 2015.03.31 දිනට මුදල් හා මුදල් සමාන දෑ | | 400 (01) |

**(ලකුණු 24)**

පෙරවැඩ :

රඳවාගත් ඉපැයුම් ගිණුම

| | | | | | |
|---|---|---|---|---|---|
| කොටස් නිකුත් කිරීමේ ගිණුම | 500 | 01 | ශේෂය ඉ/ගෙ | 4 400 | 01 |
| ලාභාංශ | 400 | 01 | කාලච්ඡේදයේ ලාභය | 2 000 | |
| ශේෂය ප/ගෙ. | 5 500 | 01 | | | |
| | 6 400 | | | 6 400 | |
| | | | ශේෂය ඉ/ගෙ | 5 500 | |

දේපල පිරියත හා උපකරණ ගිණුම

| | | | | | |
|---|---|---|---|---|---|
| ශේෂය ඉ/ගෙ | 13 100 | | කාර්යාල උපකරණ ඉවත් කිරීම | 1 000 | 01 |
| ඉඩම් ණයහිමියෝ | 3 000 | 01 | | | |
| මුදල් | 4 500 | | ශේෂය ප/ගෙ | 19 600 | |
| | 20 600 | | | 20 600 | |
| ශේෂය ඉ/ගෙ | 19 600 | | | | |

(2)

කාර්යාල උපකරණ ඉවත් කිරීමේ ගිණුම රු' 000

| | | | | | |
|---|---|---|---|---|---|
| කාර්යාල උපකරණ | 1 000 | (02) | කාර්යාල උපකරණ සමුච්චිත ක්ෂය | 400 | (02) |
| | | | මුදල් | 300 | |
| | | | ලාභලාභ | 300 | (02) |
| | 1 000 | | | 1 000 | |

ධාරණ අගය රු 600 පමණක් දක්වා ඇත්නම් ලකුණු 02 පමණි.

**(ලකුණු 06)**

**(මුළු ලකුණු 30)**

6 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 15 x 2 = ලකුණු 30කි.
6 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 68%ක් පමණි.

ලකුණු 00 - 07 ප්‍රාන්තරයේ 24%ක් ද,
ලකුණු 08 - 15 ප්‍රාන්තරයේ 30%ක් ද,
ලකුණු 16 - 23 ප්‍රාන්තරයේ 25%ක් ද,
ලකුණු 24 - 30 ප්‍රාන්තරයේ 21%ක් ද,

ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 24 හෝ ඊට වඩා වැඩියෙන් ලකුණු ලබාගත් පිරිස 21%ක් පමණක් වන අතර, අයදුම්කරුවන්ගෙන් 24%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 07 හෝ ඊට වඩා අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් අනුකොටස් 02න් එක් කොටසක පහසුතාව 76%කි. පහසුතාව අඩු කොටස (1) වන අතර එහි පහසුතාව 50%කි.

(6) (1) කොටසෙහි පහසුතාව 50%කි. මුදල් ප්‍රවාහ ප්‍රකාශ LKAS 07 ප්‍රමිතිය මගින් සපයා ඇති නිවැරදි ආකෘති පිළිබඳ අවබෝධය සිසුන්ගෙන් අඩකට පමණ නොමැති වීම මෙයට හේතු විය හැකිය. ඍජු ක්‍රම හා වක්‍ර ක්‍රමය පිළිබඳ ව මෙන්ම මෙහෙයුම් ආයෝජන හා මූල්‍ය ක්‍රියාකාරකම් යටතේ අයිතම සටහන් කරන ආකාරය හා ශුද්ධ මුදල් ප්‍රවාහයන් (ධන/ඍන) පිළිබඳ ප්‍රමාණවත් අවබෝධයක් අයදුම්කරුවන්ට නොමැති බව පෙනී යයි.

තවද, රඳවාගත් ඉපයුම් ප්‍රාග්ධනිත කිරීම, ලාභාංශ ගෙවීම හා කාලච්ඡේදයේ ලාභය එම ගිණුමට මාරු කිරීම පිළිබඳ අවබෝධය ද අඩුවීම හේතුවෙන් වඩා හොඳ ලකුණු ප්‍රමාණයක් කරා යාමට අපහසු වී ඇති බව පෙනී යයි.

ඉහත කරුණු මෙන්ම දේපල පිරියත හා උපකරණ මිලදී ගැනීම, විකිණීම, ක්ෂයවීම හා ඉවත් කිරීමේ ලාභ/අලාභ සටහන් කිරීම පිළිබඳ අවබෝධය ද ලැබෙන පරිදි ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කර ගැනීම වැදගත් වනු ඇත.

6 (2) කොටසෙහි පහසුතාව 76%කි. කාර්යාල උපකරණ ඉවත් කිරීමේ ගිණුම පිළියෙල කිරීමට සිසුන් උනන්දු වී ඇතත්, වත්කමේ පිරිවැය එහි ධාරණ අගය තුළින් ගලපා ගැනීමට සමහර අයදුම්කරුවන් අපොහොසත් වී ඇත.

**07 ප්‍රශ්නය**

**7.** **(අ)** සමාගමක් මුද්‍රණාලයක් ආරම්භ කිරීමට සැලසුම් කරමින් සිටී. මේ සඳහා අවශ්‍ය කරන මුද්‍රණ යන්ත්‍රය මිල දී ගැනීමට අදාළ මුදල් ප්‍රවාහ පහත දැක්වේ:

| | **රු. ' 000** |
|---|---|
| ගැනුම් මිල | 2 000 |
| වැඩ බිම සකස් කිරීමේ වියදම් | 200 |
| සවිකිරීමේ ගාස්තු | 300 |

යන්ත්‍රයේ අපේක්ෂිත සුන්බුන් අගය සහ ඵලදායී ජීව කාලය පිළිවෙළින් රු. 500 000 ක් සහ වසර 4 ක් වේ.

ව්‍යාපෘතිය ආරම්භයේ දී රු. 500 000 ක කාරක ප්‍රාග්ධනයක් අවශ්‍ය වන අතර එය ව්‍යාපෘතිය අවසානයේ දී නැවත ලබා ගත හැකි ය.

මුද්‍රණාලයෙන් අපේක්ෂිත ආදායම සහ මෙහෙයුම් වියදම් පහත පරිදි වේ:

**රු ' 000**

| වසර | 1 | 2 | 3 | 4 |
|---|---|---|---|---|
| ආදායම | 3 500 | 4 500 | 6 000 | 7 500 |
| මෙහෙයුම් වියදම් (ක්ෂය ද ඇතුළුව) | 2 000 | 3 000 | 3 500 | 4 000 |

ව්‍යාපෘතියේ 10% ක අපේක්ෂිත ප්‍රතිලාභ අනුපාතය මත වට්ටම් සාධක (පළමු දශමස්ථානයට):

| වසර | 1 | 2 | 3 | 4 |
|---|---|---|---|---|
| වට්ටම් සාධකය | 0.9 | 0.8 | 0.7 | 0.6 |

**අවශ්‍යවන්නේ:**

ව්‍යාපෘතිය සම්බන්ධයෙන් පහත දෑ:

(1) අන්තර්ගත අයිතම වෙන වෙන ම දක්වමින් ආරම්භක මුළු මුදල් ගලා යෑම

(2) වසර 1 සිට 4 දක්වා වාර්ෂික මුදල් ගලා ඒම් සහ මුදල් ගලා යෑම්

(3) ශුද්ධ වර්තමාන අගය

(4) ව්‍යාපෘතියේ ශුද්ධ වර්තමාන අගය මත පදනම් ව එහි යෝග්‍යතාව පිළිබඳ නිර්දේශය **(ලකුණු 05 යි)**

## පිළිතුර

**ප්‍රශ්න අංක 07**

(අ) (1)

| | රු' 000 | |
|---|---|---|
| ගැනුම් මිල | 2 000 | 01 |
| වැඩබිම සකස් කිරීමේ වියදම | 200 | |
| සවිකිරීමේ ගාස්තු | 300 | |
| කාරක ප්‍රාග්ධනය | 500 | 01 |
| මුළු මුදල් ගලා යෑම | 3 000 | |

* මුළු මුදල් ගලා යෑම රු 3 000 පමණක් ඇත්නම් ලකුණු 01 පමණි.

**(ලකුණු 02)**

(2)

| අයිතමය \ වර්ෂය | 1 | 2 | 3 | 4 | |
|---|---|---|---|---|---|
| මුදල් ගලා ඒම් : | | | | | |
| ආදායම | 3 500 | 4 500 | 6 000 | 7 500 | 01 |
| කාරක ප්‍රග්ධනය ආපසු ලැබීම් | - | - | - | 500 | 01 |
| සුන්බුන් අගය | | | | 500 | 01 |
| | 3 500 | 4 500 | 6 000 | 8 500 | |
| මුදල් ගලායෑම් : | | | | | |
| මෙහෙයුම් වියදම් | 1 500 | 2 500 | 3 000 | 3 500 | 02 |

**(ලකුණු 05)**

(3) ශුද්ධ වර්තමාන අගය (NPV) = රු 5 500 000 (02)

**(ලකුණු 02)**

| වර්ෂය | ශුද්ධ මුදල් ප්‍රවාහය | වට්ටම් සාධකය | වර්තමාන අගය |
|---|---|---|---|
| 0 | (3 000) | 1 | (3 000) |
| 1 | 2 000 | 0.9 | 1 800 |
| 2 | 2 000 | 0.8 | 1 600 |
| 3 | 3 000 | 0.7 | 2 100 |
| 4 | 5 000 | 0.6 | 3 000 |
| ශුද්ධ වර්තමාන අගය | | | 5 500 |

(ශුද්ධ මුදල් ප්‍රවාහය 01; වට්ටම් සාධකය 01)

වර්තමාන අගයන් පමණක් ඇත්නම් නිවැරදි අයිතම 2කට 1 බැගින් උපරිම ලකුණු 02

(4) ශුද්ධ වර්තමාන අගය ධන බැවින් ව්‍යාපෘතිය පිළිගැනීම යෝග්‍ය වේ. (01)

**(ලකුණු 01)**

(ආ) රත්තරු ක්‍රීඩා සමාජයේ 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ලැබීම් සහ ගෙවීම් ගිණුම පහත පරිදි විය:

**ලැබීම් සහ ගෙවීම් ගිණුම (රු.'000)**

| | | | |
|---|---|---|---|
| ශේෂය ඉ/ගෙ | 80 | ප්‍රේක්ෂකාගාරය නවීකරණය කිරීම | 300 |
| ක්‍රීඩා උපකරණ සඳහා පරිත්‍යාගය | 500 | වැටුප්: | |
| සාමාජික මුදල් | 390 | - ක්‍රීඩාංගන භාරකරු | 360 |
| ඇතුළත් වීමේ ගාස්තු | 120 | - කළමනාකරු | 240 |
| ක්‍රීඩා පිටිය කුලියට දීමේ ගාස්තු | 660 | කාර්යාල වියදම් | 50 |
| | | ක්‍රීඩා පිටිය නඩත්තු කිරීම | 150 |
| | | ක්‍රීඩා උපකරණ | 500 |
| | | ශේෂය ප/ගෙ | 150 |
| | **1 750** | | **1 750** |

**අතිරේක තොරතුරු:**

(i) 2014.04.01 දිනට පැවති දේපළ, පිරියත සහ උපකරණවලට පහත තොරතුරු අදාළ වේ:

| | **පිරිවැය (රු.'000)** | **සමුච්චිත ක්ෂය (රු.'000)** | **අපේක්ෂිත ඵලදායී ජීව කාලය (වසර)** |
|---|---|---|---|
| ක්‍රීඩා පිටිය | 2 000 | – | – |
| ප්‍රේක්ෂකාගාරය | 1 500 | 750 | 20 |
| ක්‍රීඩා උපකරණ | 500 | 300 | 5 |

(ii) 2014.04.01 දින ප්‍රේක්ෂකාගාරය නවීකරණය කිරීම සම්පූර්ණ කරන ලද අතර එදින සිට එය භාවිතයට ගන්නා ලදී. මෙම වටිනාකම ප්‍රේක්ෂකාගාර ගිණුමේ මේ දක්වා හඳුනාගෙන නොමැත. තව ද මෙදින සිට ප්‍රේක්ෂකාගාරයේ ඉතිරි ඵලදායී ජීව කාලය වසර 15 ක් දක්වා වැඩි වී ඇත.

(iii) 2014.04.01 දින ක්‍රීඩා උපකරණ මිල දී ගැනීම සඳහා මුදල් පරිත්‍යාගය ලද අතර මෙම අයිතම 2014.10.01 දින මිල දී ගන්නා ලදී. මෙම උපකරණවල අපේක්ෂිත ඵලදායී ජීව කාලය වසර 5 කි. පරිත්‍යාග ලද වසරේ සිට වසර 5 ක් තුළ ආදායමෙහි හඳුනා ගැනීම ක්‍රීඩා සමාජයේ ප්‍රතිපත්තිය වේ.

(iv) සාමාජිකයකුගේ වාර්ෂික සාමාජික මුදල රු. 6 000 කි. 2014.04.01 දින ක්‍රීඩා සමාජයේ සාමාජිකයින් ගණන 40 ක් විය. මෙදින තවත් සාමාජිකයින් 10 දෙනෙකු බැඳුනු අතර ඔවුන් වසර දෙකක සාමාජික මුදල් එකවර ගෙවන ලදී. ප්‍රවර්තන වර්ෂයේ ලද සාමාජික මුදල් තුළ 2013/2014 වර්ෂය සඳහා ලද රු. 30 000 ක් ද අන්තර්ගත වේ. 2015.03.31 දිනට ලැබිය යුතු සාමාජික මුදල් නොමැත.

(v) එක් ක්‍රීඩා උත්සවයක් සඳහා රු. 300 000 ක් අයකරමින් ක්‍රීඩා පිටිය බාහිර පාර්ශ්වයන්ට කුලියට දෙනු ලැබේ. මෙම මුදලින් 60% ක් අත්තිකාරමක් ලෙස ක්‍රීඩා පිටිය වෙන් කරන අවස්ථාවේ දී ද, ඉතිරිය ක්‍රීඩා උත්සව දිනයේ දී ද ගෙවිය යුතුවේ. මෙම ක්‍රීඩා උත්සවවල විස්තර පහත පරිදි වේ.

| **උත්සව අංකය** | **උත්සවයේ අදියර** | **ප්‍රවර්තන වර්ෂය තුළ මුදල් ලැබීම්** |
|---|---|---|
| 1 | 2014.07.01 දින නිම කරන ලදී. | අත්තිකාරම ද ඇතුළුව මුළු මුදලම ලැබුණි. |
| 2 | 2014.11.08 දින නිම කරන ලදී. | අත්තිකාරම පමණක් ලැබුණි. |
| 3 | 2015 අප්‍රේල් මාසයේ පළමු සතියේ දී පැවැත්වේ. | 2015 මාර්තු මාසය තුළ අත්තිකාරම ලැබුණි. |

**අවශ්‍යවන්නේ:**

රත්තරු ක්‍රීඩා සමාජය සඳහා පහත දෑ:

(1) 2014.04.01 දිනට සමුච්චිත අරමුදල

(2) 2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ආදායම් ප්‍රකාශනය

(3) 2015.03.31 දිනට මූල්‍ය තත්ත්ව ප්‍රකාශනය

**( ලකුණු 10 යි)**
**(මුළු ලකුණු 15 යි)**

පිළිතුර

(1) සමුච්චිත අරමුදල රු 3 060 000 (02)

| **පෙරවැඩ :** | රු' 000 |
|---|---|
| ක්‍රීඩා පිටිය | 2 000 |
| ප්‍රේක්ෂකාගාරය | 750 |
| ක්‍රීඩා උපකරණ | 200 |
| මුදල් | 80 |
| ලැබිය යුතු සාමාජික මුදල් | 30 |
| සමුච්චිත අරමුදල | 3 060 |

අයිතම දෙකකට එක බැගින් උපරිම ලකුණු 02

(2) රන්තරු ක්‍රීඩා සමාජය

2015.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ආදායම් ප්‍රකාශනය රු' 000

| | | |
|---|---|---|
| **ආදායම්** | | |
| සාමාජික මුදල් | 300 (01) | |
| ක්‍රීඩා උපකරණ පරිත්‍යාග | 100 (01) | |
| ඇතුළත්වීමේ ගාස්තු | 120 * | |
| ක්‍රීඩා පිටිය කුලියට දීමේ ගාස්තු | 600 (01) | 1 120 |
| **වියදම්** | | |
| ක්‍රීඩාංගන භාරකරුගේ වැටුප් | 360 * | |
| කළමණාකරුගේ වැටුප් | 240 * | |
| කාර්යාල වියදම් | 50 * | |
| ක්‍රීඩා පිටිය නඩත්තු වියදම් | 150 * | |
| ප්‍රේක්ෂකාගාර ක්ෂය | 70 (02) | |
| ක්‍රීඩා උපකරණ ක්ෂය | 150 (02) | 1 020 |
| **අතිරික්තය** | | (01) 100 |

* අයිතම දෙකකට 01 බැගින් උපරිම ලකුණු (02)

(ලකුණු 10)

(3)

රන්තරු ක්‍රීඩා සමාජය

2015.03.31 දිනට මූල්‍ය තත්ත්ව ප්‍රකාශනය රු' 000

| | | |
|---|---|---|
| **ජංගම නොවන වත්කම් - ධාරණ වටිනාකමට** | | |
| ක්‍රීඩා පිටිය | | 2 000 |
| ප්‍රේක්ෂකාගාරය | | 980 (01) |
| ක්‍රීඩා උපකරණ | | 550 (01) |
| | | 3 530 |
| **ජංගම වත්කම්** | | |
| ලැබිය යුතු කුලී | 120 (01) | |
| මුදල් | 150 (01) | 270 |
| | | 3 800 |
| සමුච්චිත අරමුදල - 2014.04.01 | 3 060 | |
| අතිරික්තය | (01) 100 | 3 160 |
| ක්‍රීඩා උපකරණ අරමුදල | | 400 (01) |
| **ජංගම වගකීම්** | | |
| ක්‍රීඩා පිටිය කුලියට දීමේ අත්තිකාරම් | 180 (01) | |
| කලින් ලද සාමාජික මුදල් | 60 (01) | 240 |
| | | 3 800 |

(ලකුණු 08)

(මුළු ලකුණු 30)

7 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 15 x 2 = ලකුණු 30කි.
7 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 45%ක් පමණි.
ඉන් ලකුණු 00 - 07 ප්‍රාන්තරයේ 46%ක් ද,
ලකුණු 08 - 15 ප්‍රාන්තරයේ 32%ක් ද,
ලකුණු 16 - 23 ප්‍රාන්තරයේ 14%ක් ද,
ලකුණු 24 - 30 ප්‍රාන්තරයේ 8%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. ඒ අනුව මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 24ක් හෝ ඊට වැඩියෙන් ලකුණු ලබාගත් පිරිස 8%ක් වන අතර, අයදුම්කරුවන්ගෙන් 46%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 07ක් හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයෙහි අනුකොටස් 7ක් අතුරින් කොටස් 4ක පහසුතාවය 50%ට වැඩිය එයින් කොටස් 3ක පහසුතාවය 75%ට වඩා වැඩි වී ඇත. (ආ) (3) කොටසෙහි පහසුතාවය 27%කි.

(7) (අ) (1) කොටසේ පහසුතාව 75%කි. එහිදී අයදුම්කරුවන් හට ආරම්භක මුදල් ගලා යෑම පිළිබඳ අවබෝධය ප්‍රමාණවත් පරිදි තිබූ බව කිව හැකිය.

(7) (අ) (2) කොටසේ පහසුතාවය 59%කි. මුදල් ප්‍රවාහ ගණනයේදී ක්ෂය ගැලපීම පිළිබඳ අයදුම්කරුවන් තුළ ප්‍රමාණවත් අවබෝධයක් නොතිබීම ලකුණු අඩුවීමට හේතුවක් ලෙස පෙන්වා දිය හැකිය.

(7) (අ) (3) කොටසේ පහසුතාවය 77%කි. (4) කොටසේ පහසුතාවය 80%කි. මෙහිදී ශුද්ධ වර්තමාන අගය ගණනය කරන ආකාරය හා එම අගය මත යෝග්‍යතාවය තීරණය කිරීම පිළිබඳ අවබෝධය ප්‍රමාණවත් බව කිව හැකිය.

(7) (ආ) (1) කොටසේ පහසුතාවය 37%කි. ආරම්භක සමුච්චිත අරමුදල් ගණනය කර ගැනීමට බොහෝ අයදුම්කරුවන් අපොහොසත් වී ඇති බව පෙනේ. ලැබීම් හා ගෙවීම් ගිණුමෙහි ආරම්භක ශේෂය සමුච්චිත අරමුදල සෙවීමේදී යොදා ගත යුතු බව හඳුනාගෙන නොතිබුණි.

(7) (ආ) (2) කොටසේ පහසුතාවය 35%කි. මෙහිදී ප්‍රේක්ෂකාගාර ක්ෂය හා ක්‍රීඩා උපකරණ ක්ෂය ගණනය කිරීම නිවැරදි ව සිදු නොවී තිබූ අතර එක් එක් අවස්ථාවට අනුව ක්ෂය ගණනය කර ගලපන ආකාරය පිළිබඳ අයදුම්කරුවන්ගේ අවබෝධය අඩුවීම මෙම කොටසේ පහසුතාවය අඩුවීමට හේතු විය හැකිය.

(7) (ආ) (3) කොටසේ පහසුතාවය 27%කි. විශේෂ පරිත්‍යාගයක් ගැලපීම් කරන ආකාරය පිළිබඳ අයදුම්කරුවන්ගේ අවබෝධය අඩුවීම නිසා ක්‍රීඩා උපකරණ අරමුදල පිළිබඳ ව නිවැරදි ගණනය කිරීමක් සිදු වී නොතිබීම පහසුතාවය අඩුවීමට හේතු විය හැකිය.

ක්‍රීඩා පිටිය කුලියට දීම තුළින් ලැබිය යුතු කුලී ආදායම ජංගම වත්කමක් ලෙස නිවැරදි ව හඳුනාගෙන නොතිබූ අතර කුලියට දීමේ අත්තිකාරම් මුදල වගකීමක් ලෙස බොහෝ අයදුම්කරුවන් අවබෝධ කරගෙන නොතිබුණි.

ප්‍රේක්ෂකාගාරය හා ක්‍රීඩා උපකරණවල නිවැරදි ව ක්ෂය ගණනය කිරීම සිදු නොවී තිබුණු අතර එම නිසා එම වත්කම්වල ධාරණ අගයන් නිවැරදි ව සටහන් කර නොතිබුණි.

ලාභ අරමුණු කර නොගත් සංවිධානවල පවතින විශේෂ පරිත්‍යාග නිදසුනක් ලෙස යොදා ගනිමින් වර්ෂයේ වත්කම් වැඩිවීම හා අරමුදල ගොඩනැගෙන ආකාරය පැහැදිලි වනසේ ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කරගත යුතු අතර ඒවා ක්ෂය වන ආකාරය ද ශිෂ්‍යයාට පැහැදිලි වනසේ වැඩි අභ්‍යාස ප්‍රමාණයක් කරවීම යෝග්‍ය වේ.

2.2.3 II ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




II ප්‍රශ්න පත්‍රයේ 1 වන ප්‍රශ්නය හැර අනෙකුත් ප්‍රශ්නවල පහසුතාවය 45% හෝ ඊට වැඩිය.

II ප්‍රශ්න පත්‍රයේ ප්‍රශ්න අතරින් 68%ක වැඩිම පහසුතාවක් 5 වන ප්‍රශ්නයට දක්වා ඇති අතර 43%ක අඩුම පහසුතාවක් දක්වා ඇත්තේ 1 වන ප්‍රශ්නයටය.

පළමුවන හා දෙවන ප්‍රශ්න අනිවාර්ය වේ. මෙම ප්‍රශ්න දෙක අතුරින් වැඩිම පහසුතාවක් දක්වා ඇත්තේ 2 වන ප්‍රශ්නයට වන අතර එහි පහසුතාව 57%කි.

3 වන ප්‍රශ්නයේ සිට 7 වන ප්‍රශ්නය තෙක් ලබාදී ඇත්තේ, තෝරා ගන්නා ප්‍රශ්න වන අතර ඉන් වැඩිම පහසුතාවක් දක්වා ඇත්තේ 5 වන ප්‍රශ්නයට වේ. එහි පහසුතාව 68%කි. ප්‍රශ්න තෝරා ගැනීමේදී වැඩිම පිරිසක් තෝරාගෙන ඇත්තේ 3 වන ප්‍රශ්නය වේ. මෙහි ප්‍රතිශතය 95%ක් වේ. දෙවන ප්‍රශ්න පත්‍රයේ තෝරා ගන්නා ප්‍රශ්නවලින් අඩුම පහසුතාවක් දක්වා ඇත්තේ 7 වන ප්‍රශ්නය වන අතර එය 45%කි.
තෝරා ගන්නා ප්‍රශ්න අතරින් දෙවනුව වැඩිම පිරිසක් තෝරා ගෙන ඇත්තේ 5 වන ප්‍රශ්නය වන අතර එහි තෝරා ගැනීම 79%ක් වන අතර පහසුතාව 68%කි.

# III කොටස

## 3.0 පිළිතුරු සැපයීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු හා යෝජනා :

## 3.1. පිළිතුරු සැපයීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු :

**පොදු උපදෙස් :**

* ප්‍රශ්න පත්‍රයේ දී ඇති උපදෙස් කියවා හොඳින් තේරුම් ගත යුතුය. එනම් කුමන ප්‍රශ්න සංඛ්‍යාවකට පිළිතුරු සැපයිය යුතුද? කුමන ප්‍රශ්න අනිවාර්ය වේද, ඒ සඳහා වෙන් කොට ඇති කාලයන් කොපමණ ද? වෙන් කොට ඇති ලකුණු ප්‍රමාණයන් කොපමණද යනාදියයි.
* ප්‍රශ්න හොඳින් කියවා අවබෝධ කරගෙන තෝරා ගත යුතු අතර, ප්‍රශ්න තෝරා ගැනීමේදී හා පිළිතුරු ලිවීමේදී එය ප්‍රයෝජනයට ගත යුතුය.
* නිවැරදි හා පැහැදිලි අත් අකුරුවලින් ලිවිය යුතුය.
* අයදුම්කරුගේ විභාග අංකය අදාළ සෑම පිටුවකම අදාළ ස්ථානයේ ලිවිය යුතුය.
* I පත්‍රයේ 1-30 දක්වා ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේදී වඩාත් ආසන්න පිළිතුරු අතුරින් වඩාත්ම නිවැරදි පිළිතුර තෝරා ගත යුතුය.
* I පත්‍රයේ 31-50 දක්වා ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේදී දීර්ඝ විස්තර ඇතුළත් කිරීම නොකළ යුතුය.
* II වන පත්‍රයේ ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේදී සෑම ප්‍රධාන ප්‍රශ්නයක්ම අළුත් පිටුවකින් ආරම්භ කළ යුතුය.
* උත්තර පත්‍රයට පිටු අමුණන්නේ නම් නිවැරදිව අංක කර නොගැලවෙන පරිදි ඇමිණිය යුතුය.
* ප්‍රශ්න අංක හා අනුකොටස් අංක නිවැරදි ව ලිවිය යුතුය.
* ප්‍රශ්නයෙහි අසා ඇති ආකාරය අනුව තර්කානුකූලව හා විශ්ලේෂණාත්මකව කරුණු ඉදිරිපත් කළ යුතුය.
* එක් එක් අනු කොටස් හොඳින් කියවා බලා එක් එක් අනු කොටසට අදාළ ඉලක්කගත පිළිතුර පමණක් ලිවිය යුතුය.
* පිළිතුරු සැපයීමේදී කාලය නිසි පරිදි කළමනාකරණය කරගත යුතුය. මෙහිදී ප්‍රශ්නයට අදාළ ලකුණු ප්‍රමාණය සමග කාලය කළමනාකරණය කරගත හැකිය.
* පිළිතුරු ලිවීමේදී රතු, දම් සහ කොළ පාට පැන් භාවිත කිරීමෙන් වැළකිය යුතුය.

**විශේෂ උපදෙස් :**

1. ප්‍රශ්නවලට අදාළ පිළිතුර පියවරෙන් පියවර ඉදිරිපත් කළ යුතුය.
2. සංඛ්‍යා රුපියල් දහස්වලින් ඉදිරිපත් කරන්නේ නම් එය සඳහන් කළ යුතුය. (එනම් රු'000 ලෙස)
3. එක් එක් ප්‍රශ්නයට අදාළ පෙර වැඩ ඒ ඒ පිළිතුර සමග ඉදිරිපත් කළ යුතුය.
4. ප්‍රශ්නයක අනුකොටස් ඇති විටෙක එම අනුකොටස් සියල්ල එක ලග තිබෙන ලෙස පිළිතුරු ඉදිරිපත් කළයුතු අතර උත්තර පත්‍රයෙහි තැනින් තැන විසුරුවා ලිවීම නොකළ යුතුය.
5. ඉලක්කම් සහ ධන ඍණ ලකුණු ද, සත්‍ය අසත්‍ය බවද අදාළ වේ, අදාළ නොවේ ආදිය ද පැහැදිලි ව ලිවිය යුතුය.
6. තමා ලද අගය භාවිත කරමින් සම්පූර්ණ පිළිතුර සැපයිය යුතුය. එනම් ලද එක් පිළිතුරක් වැරදි යැයි උපකල්පනය කොට ඉතිරි කොටස්වලට පිළිතුරු නොලියා සිටීමෙන් වැළකිය යුතුය.
7. සමාගම් මූල්‍ය ප්‍රකාශන පිළියෙල කිරීමේදී ගිණුම්කරණ සටහන් හා පෙරවැඩ අතර වෙනස වටහා ගෙන පිළිතුරු සැපයීමට වගබලා ගත යුතුය.

### 3.2. ඉගෙනුම් හා ඉගැන්වීම් ක්‍රියාවලිය පිළිබඳ අදහස් හා යෝජනා :

* විෂය නිර්දේශය, ගුරු මාර්ගෝපදේශ සංග්‍රහය, 1995 අංක 15 දරන ගිණුම්කරණ හා විගණන ප්‍රමිත පනත, 2007 අංක 07 දරන සමාගම් පනත, උසස් පෙළට නිර්දේශිත ගිණුම්කරණ ප්‍රමිත සහ අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව පළකර ඇති උ.පෙළ ගිණුම්කරණය සම්බන්ධ පොත් යනාදිය සියළුම සිසුන් මෙන්ම ගුරුභවතුන් ද පරිශීලනය කළයුතු අතර ඒ පිළිබඳ ව දැනුවත් වීම හා භාවිතය ද අත්‍යාවශ්‍යය.

* ගිණුම්කරණ ප්‍රශ්න පත්‍රයට සාර්ථකව පිළිතුරු ලිවීමට නම් ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලියේදී ප්‍රායෝගික ගැටළු මුල් කරගෙන සකස් කළ අභ්‍යාස ශිෂ්‍යයා ලවා කරවීම අවශ්‍යය.

* මුද්‍රණය කරන ලද අභ්‍යාස ලබාදීමට හැකියාවක් ඇත්නම් වැඩි අභ්‍යාස ප්‍රමාණයක් විසඳීමට සිසුන්ට අවස්ථාව ලැබෙනු ඇත.

* සාක්ෂරතාවයේ අඩුපාඩු හේතුවෙන් ප්‍රශ්න අවබෝධ කරගැනීමේ සහ ප්‍රකාශනය කිරීමේ ගැටළු අවම කර ගැනීම සඳහා සුදුසු වැඩ සටහන් ක්‍රියාත්මක කළ යුතුය.

* ව්‍යාපාර ලෝකයේ ප්‍රායෝගිකව භාවිත කරන මූලාශ්‍ර ලියවිලි හා ගිණුම් වාර්තා පන්ති කාමර ආධාරක ලෙස භාවිත කරමින් විෂයය සංවර්ධනයට අවශ්‍ය අත්දැකීම් තහවුරු කර ගැනීමට මග පෙන්වීම අවශ්‍යය.

  නිදසුන් - මූලාශ්‍ර ලියවිලි
  - බැංකු ප්‍රකාශන
  - වැටුප් ලේඛන
  - තොග වාර්තා
  - සමාගම් වාර්ෂික වාර්තා

* මෙම විෂය ඉගෙන ගන්නාට මෙන්ම සමාජයටද එකසේ වැදගත් වන බැවින් අවබෝධයෙන් යුතුව, තර්කානුකූලව, මනසට රසවත් වන ආකාරයට ඉගෙන ගත යුතු අතර එක් එක් ඒකකය ඉගෙන ගත යුත්තේ මන්ද යන්න දරුවාගේ මනසට අවධාරණය වන පරිදි ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය විය යුතුය.

* මෙම විෂය තීරණ ගැනීම සඳහා වැදගත් වන සමාජයීය විෂයයක් බැවින් ඉගෙනුම් උපකරණ හා මෙවලම් භාවිතය මගින් ප්‍රබෝධක ඉගෙනුම් පරිසරයක් ගොඩනැගීමට හා කුසලතා වර්ධනය කරගැනීමට අවස්ථාව ලබාදිය යුතුය.

* විෂය නිර්දේශයේ අවසාන විෂයය කොටස් පදනම් කරගෙන ඇතුළත් කර ඇති ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේ ප්‍රවණතාවයේ අඩුවීමක් මෙන් ම එම කොටස් සඳහා ලකුණු ලබා ගැනීමේ ප්‍රවණතාවේ අඩුවීමක් ද නිරීක්ෂණය වේ. ඒ අනුව ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලියේදී එම විෂය කොටස් ආවරණය කිරීම කෙරෙහි වැඩි අවධානයක් යොමු කිරීම වැදගත් වනු ඇත.

* නව විෂය දැනුම සංවර්ධනය කර ගැනීම හා යාවත්කාලීන වීමට විශේෂයෙන් ගුරු භවතුන් සැලකිලිමත් විය යුතු අතර, ශිෂ්‍යයින්ට ද එම කරුණ වැදගත් වේ. මෙමගින් කුසලතා පූර්ණ නිර්මාණශීලී පුද්ගලයන් බිහිවන අතර ඔවුන් මතු පරපුරට මහගු දායාදයකි.